සැඟවුණු බෝදු මග යළි පුබුදන

# හෙළ බෝදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ ඇසල මස (ව්‍යවහාරික වර්ෂ 2017 ජූලි)

70 වෙනි කලාපය



පිරිනිවන් පෑ

## අභයරත්නාලංකාර මහ රහතන් වහන්සේ

ගැන තවත් උත්තමයාණන් වහන්සේ නමක් කරන සුවිශේෂීය විවරණයක්...







රු. 25/-

සැඟව ගිය බෝදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# මහා සමන

මිනිස් වග භව දුකෙන් මිදුව ගුණවතා ණෝ
සහස් සත වෙත අමා ඔසුව පෙව් වෙදා ණෝ
වෙසෙස් ගුණ තෙදින් යුත් සොඳුරු සිරිමතා ණෝ
කෙළෙස් සමනය කළෝ අපේ බුදු පියා ණෝ

මහා දිගු සසර මග ගෙවා මනු ලොව ඉපිද
ලෙහා බැමි ඉවත හැර දමා රජ සැප වුවද
බහා ලනු පිණිස දුක සදා සුවයම වැළඳ
වහා තපසට ගියෝ මහා උතුමෙකු නොවෙද

එදා මිසදිටු අඳුර මුදා හැර ලොව සතට
සදා සුව ලබා දුනි වෙදා වුනි භව දුකට
බෙදා බුදු ගුණ සුවඳ නිමා නොව එක ලෙසට
රදා බුදු දහම් සක පැතිරුවා දස දෙසට

විසා රද නැණ බෙලෙන් මනා දහමක් දෙසුව
අසා සිටි බොහෝ දන එදා භව දුක නැසුව
මුසා දෙසු බමුණු කුල පවා බුදු බණ ඇසුව
නසා මොහඳුර සදා මුනිඳු ඇසුරෙහි විසුව

නිවන් මග කියා දුන් සතට නිසි ඔවා දුන්
නැණින් අග රදාණන් සසර දුක නිවා දුන්
දුකින් මිදු වෙදාණන් දහම් ඇස ලබා දුන්
වඳින් බුදු පියාණන් දෙලොව සුව සදා දුන්

තම තමා තම නැණින් පිහිට වනු තම දුකට
සැම දෙනා කුසල දම් පිරිය යුතු පර ලොවට
එම ඔවා සම මෙතින් දෙසුව අපෙ බුදු හිමිට
නම "මහා සමන" යැයි පැවසු බැති පෙරටු කොට

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

පබැඳුම - නැදිමාලේ ස්වර්ණා සමරසිංහ



# පෙළ දහමින් නිවන් මග 09





අද ලෝකයේ ඉන්න මිනිස්සු එක එක ජාතියේ පර්යේෂණ කරනවා. නොයෙක් දේවල් හොයාගන්න, අළුත් අත්හදා බැලීම් කරන්න... මේ ආදී සියලු දේවල්වලට පර්යේෂණ කරනවා. ලෝක සම්මත මහා විද්‍යාඥායො කරන පර්යේෂණ වගේම අපි එදිනෙදා ජීවිතයේ කරන පර්යේෂණත් තියෙනවා. ඒ කිව්වෙ ඇහෙන් රූප බැලීම, කනෙන් ශබ්ද ඇහීම, නහයෙන් ගඳ සුවඳ බැලීම, දිවෙන් රස බැලීම සහ කයෙන් පහස ලැබීම. මේවත් අයිති වෙන්නෙ පර්යේෂණවලට. පර්යේෂණ කියල මෙතනදි අදහස් කළේ යමක් හොයන්න තියෙන අවශ්‍යතාවය. ඒ අවශ්‍යතාවයත් එක එක විදිහයි. ඒ ඒ අය බැඳිල තියෙන තැන් අනුව, බැඳිල තියෙන දේ අනුව හොයන දේ වෙනස් වෙන්න පුළුවන්. ඉතින් එදා ලොව්තුරා බුදුන් වහන්සේත් මේ ගැන විස්තර කරල පහදල දුන්නා.

මේ කතාවට මූලික වුනේ රම්මක කියන බමුණගෙ අසපුවේ ඇති වෙච්ච කතාබහක්. මේ අසපුවේ හිටියෙ බුද්ධ සාසනයේම පැවිදි වෙච්ච භික්ෂූන් වහන්සේලා පිරිසක්. උන්වහන්සේලා ඒ වෙලාවෙ හිටියෙ දහම් කතාවක් කරමින්. ඉතින් මේ අසපුවට ලොව්තුරා බුදුන් වහන්සේ වැඩල දොරට තට්ටු කළා. ඒ අසපුවේ හිටිය භික්ෂූන් වහන්සේලා දොර ඇරල ලොව්තුරා බුදුන් වහන්සේට පනවපු ආසනයේ වැඩ ඉන්න කියල ආරාධනා කළා. මෙතනදි වැදගත් කාරණයක් තියෙනවා. ලොව්තුරා බුදුන් වහන්සේ කියන්නෙ සියල්ලෙන් සියල්ල දන්න උතුමෙක්. උන්වහන්සේට රජවරු සිටුවරු පමණක් නෙවෙයි, දෙවියන් බ්‍රහ්මයන් පවා මහා ගරු බුහුමන් දක්වනවා. උන්වහන්සේගේ තියෙන මහා ගුණය නිසා තමයි, කෙනෙක් එළියෙ ඉන්නවා කියල ඇතුලෙ ඉන්න අයට දැනුම් දෙන්න, පිට ඉඳගෙන මුලින්ම උගුර පාදල ඊට පස්සෙ දොරට තට්ටු කළේ. ඒක නිහතමානී ගුණයක්. ඒ වගේම උන්වහන්සේ ඇතුලට වැඩියට පස්සෙ ඇහුවෙ, කුමක් ගැනද ඔබලා කතා කර කර හිටියෙ, මම නිසා ඒ කතාවට බාධාවක් වුනාද කියල (අරිය පර්යේෂණ සූත්‍රය - මජ්ජිම නිකාය 1 - 397 පිටුව).

ඉතින් ඒ භික්ෂූන් වහන්සේලා, ඔව් ස්වාමීනි අපි දැහැමි කතාවකින් තමයි හිටියෙ, ඔබ වහන්සේගේ පැමිණීමෙන් අපේ ඒ කතාව නැවත්වුවා කියල පවසා සිටියා. ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ මේ භික්ෂූන් වහන්සේලාට ප්‍රසංසා කළා. හරියට හරි, නුඹලා ගිහි ගෙය අතහැරල පැවිදි වුනා නම් එක්කො දැහැමි කතාවෙන් යුක්ත වෙන්න ඕන, එහෙම නැත්නම් ආර්ය තුෂ්ණිම්භූතභාවයෙන් ඉන්න ඕන, ඔය ක්‍රම දෙකෙන් එකක් තමයි භික්ෂූන් වහන්සේලාට ගැලපෙන්නෙ. ඊට පස්සෙ, පර්යේෂණ කරනව නම් ලෝකෙ ක්‍රම දෙකක් තියෙනවා කියල පහදල දුන්නා.

“මහණෙනි, ආර්ය පර්යේෂණයයි, අනාර්ය පර්යේෂණයයි මේ සෙවීම් දෙකකි.” (අරිය පර්යේෂණ සූත්‍රය - මජ්ජිම නිකාය 1 - 397 පිටුව). ඔය විදිහට මේ ලෝක සත්ත්වයා කරන සෙවීම් දෙකක් ගැන පෙන්නුවා. ඊට පස්සෙ උන්වහන්සේ මේ ක්‍රම දෙක වෙන වෙනම විස්තර කළා.

මහණෙනි, අනාර්ය පර්යේෂණය කුමක්ද? මහණෙනි, මේ ලෝකයේ පුගුලෙක් (පුද්ගලයෙක්) තෙමේ ජාතිය ස්වභාව කොට ඇත්තේ ජාති ධර්මයක්ම (ජාතිය ස්වභාව කොට ඇත්තක්ම) සොයයි. තෙමේ ජරාව ස්වභාව කොට ඇත්තේ ජරා ධර්මයක්ම (ජරාව ස්වභාව කොට ඇත්තක්ම) සොයයි. තෙමේ ව්‍යාධිය ස්වභාව කොට ඇත්තේ ව්‍යාධි ධර්මයක්ම (ව්‍යාධිය ස්වභාව කොට ඇත්තක්ම) සොයයි. තෙමේ මරණය ස්වභාව කොට ඇත්තේ මරණ ධර්මයක්ම (මරණය ස්වභාව කොට ඇත්තක්ම) සොයයි. තෙමේ ශෝකය ස්වභාව කොට ඇත්තේ ශෝක ධර්මයක්ම (ශෝකය ස්වභාව කොට ඇත්තක්ම) සොයයි. තෙමේ කෙලෙසන ස්වභාව කොට ඇත්තේ කෙලෙසන ධර්මයක්ම (කෙලෙසන ස්වභාව කොට ඇත්තක්ම) සොයයි. (අරිය පර්යේෂණ සූත්‍රය - මජ්ජිම නිකාය 1 - 397 පිටුව)

ලොව්තුරා බුදුන් වහන්සේ මේ අනාර්ය පර්යේෂණය විස්තර කළා. අනාර්ය කියල මෙතනදි අදහස් කළේ සෝවාන් මාර්ගයේවත් නැති ලෝක සත්ත්වයා ගැන. ඒ කියන්නෙ ඊට පහල ඉන්න පෘතජ්ජන කියන මට්ටම. මේ අය කරන කියන හොයන දේවල් තමයි මෙතනදි පර්යේෂණ කියල අදහස් කළේ. ඒ මට්ටම කිව්වම, සාමාන්‍ය කෙනෙක් කවුරු හරි ගැන හොයනවා වෙන්න පුළුවන්. එහෙම නැත්නම් ලෝක සම්මතයේ

ඉන්න මහා විද්‍යාඥයෙක් අඟහරු කියන ග්‍රහ වස්තුවේ ජලය තියෙනවද කියල හොයනව වගේ දෙයක් වෙන්නත් පුළුවන්. එහෙමත් නැත්නම් සාමාන්‍ය ලෝක සම්මතයේ ඕපාදූපයක් වෙන්නත් පුළුවන්. මේ සේරම ඔය කියන ජාතියේ පර්යේෂණවලට අයිති වෙනවා. එහෙම නැතුව ලෝක සම්මත මහා විද්‍යාඥයො හෝ පිළිගත් විද්වත් අය කරන පරීක්ෂණ විතරක් නෙවෙයි පර්යේෂණවලට අයිති වෙන්නෙ.

ඉතින් මුලින්ම කිව්වෙ, මේ ලෝකයේ කෙනෙක් ජාතිය ස්වභාව කොටගෙන හොයන්නෙත් තවත් ජාතියක්මයි කියල. මෙතනදි ජාතිය ස්වභාව කොටගෙන ඇත්තේ කියල කිව්වෙ, යම් හේතුවක ඵලයක් වෙච්ච කෙනෙක් තවත් හේතුවක ඵලයක්මයි හොයන්නෙ කියන අර්ථයෙන්. ජාතිය නිකන් හට ගන්නෙ නෑ, ඒකට හේතුවක් තියෙනවා. භව පච්චයා ජාති කියන සිද්ධාන්තය උඩ තමයි ඒක වෙන්නෙ. ඉතින් මේ ජාතියට හේතුව තමයි භවය. මනුස්ස භවයක ඉන්න කෙනෙක් මනුස්ස ජාතියේ උපදිනවා. ඒ මනුස්ස ජාතියේ ඉන්න කෙනා හොයන්නෙ තවත් ඒ ජාතියේම භවයක් නිසා හටගත්ත ජාතියක දේවල්මයි. ඒක සතෙක් ගැන වෙන්න පුළුවන්, තවත් ග්‍රහ වස්තුවක තියෙන දෙයක් වෙන්නත් පුළුවන්.

ඉතින් ඔය විදිහටම, හට ගත්ත ජාතියකට උරුම ලක්ෂණයක් තියෙනවා. ඒ තමයි ජරාවට පත්වීම. ඒ නිසා තමයි කිව්වෙ, ජරාව උරුම කොට ගත්ත කෙනෙක් ජරා ධර්මයක්ම හොයනවා කියල. ඉතින් ව්‍යාධි, මරණ, ශෝක ඔය ටිකත් එහෙම්මයි. ඒ ඒ දේවල් උරුම කරගත්ත කෙනෙක් ඒ ඒ දේවල්ම හොයනවා. ඉතින් ලෝකෙට බිහි වෙච්ච සත්ත්වයෙක් මොනවා හෙව්වත්, පර්යේෂණ කළත්, ඒ කෙනාට ලැබෙන්නෙ ඒ සත්ත්වයාට උරුම වෙච්ච දෙයකට සමාන දෙයක් මිසක් වෙන දෙයක් නෙවෙයි. ඒ උරුම වෙච්ච ටික තමයි ජාති, ජරා, ව්‍යාධි, මරණ, ශෝක, කෙලෙසන ධර්ම කියල කිව්වෙ. මේ ටික උරුම කෙනා හොයන්නෙත්, අන්තිමට ලැබෙන්නෙත් ඒ ටිකම උරුම කෙනෙක් / දෙයක් කියල තමයි උන්වහන්සේ පැහැදිලි කළේ. ඊට පස්සෙ වෙන වෙනම ඒ දේවල් පැහැදිලි කළා.

මහණෙනි, කුමක් ජාති ධර්ම යයි කියන්නේද? පුත්‍ර දාරාවෝ ජාති ධර්මයෝයි, දැසි දස්සු ජාති ධර්මයෝයි, එළු බැටළුවෝ ජාති ධර්මයෝයි, කුකුළන් හා ඌරෝ ජාති ධර්මයෝයි, ඇත් ගව අස් වෙළඹහු ජාති ධර්මයෝයි, රන් රිදී ජාති ධර්මයෝයි. මහණෙනි, මේ පංචකාම ගුණ උපදීහු ජාති ධර්මයෝයි. මේ තෘෂ්ණාවෙන් බැඳුණා වූ මුසපත් වූ බැසගත්තා වූ මේ ලෝ වැසි තෙමේ ජාතිය ස්වභාව කොට ඇත්තේ ජාති ධර්මයක්ම සොයයි. (අරිය පර්යේෂණ සූත්‍රය - මජ්ජිම නිකාය 1 - 397 පිටුව)

ඊට පස්සෙ උන්වහන්සේ, මොනවද මේ ජාති ධර්ම කියල පෙන්වා දුන්නා. දූ දරුවෝ, අපි ඇති කරන සතුන්, ඒ වගේම රන් රිදී මුතු මැණික් ආදී මේ සේරම භෞතික දේවල් අයිති වෙන්නෙ ජාති ධර්මවලට. ඒ සියල්ල යම් හේතුවක් අනුව හට ගත්ත ඵලයන්. මනුස්ස භව ප්‍රත්‍ය කොටගෙන මනුස්ස ජාතිය හටගන්නවා. ඒ වගේම තිරිසන් ගති, තිරිසන් භව ප්‍රත්‍ය කොටගෙන තිරිසන් ජාතිය හට ගන්නවා. ඇත්, ගව, අස්, කුකුළන්, ඌරන් සේරම අයිති වෙන්නෙත් මේ කොටසට.

එතකොට රන් රිදී ආදිය කොහොමද ජාති ධර්ම කියල ගන්නෙ? කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. රන් රිදී මුතු මැණික් ආදිය නිකන් හට ගන්නෙ නෑ. ඒකට යම් ක්‍රියාවලියක් අවශ්‍යයි. රත්තරන් හදන්න නම් පොළවෙන් පස් අරගෙන රත් කරල ඒ අනුව යම් ක්‍රියාදාමයක් සිද්ධ කරන්න ඕන. ඒකත් භව පච්චයා ජාති කියන කොටසට ගන්න පුළුවන්. මොකක්ද මේ භව කියන්නෙ? ඇත්තටම භව කියල ගන්නෙ ජාතිය ගොඩනගන නිර්මාණාත්මක ශක්තියට. මේ ශක්තිය නිසා තමයි ජාතියක් හටගන්නෙ. රත්තරන් හදන්නත් නිකන් බෑ. ඒකට යම් කිසි ශක්තියක් යොදවන්න ඕන. ඒ අනුව අර රත්තරන් භව කියන නිර්මාණාත්මක ශක්තිය හරහා තමයි රත්තරන් හදන්නෙ. රිදීවලටත් එහෙමයි. ඒ අනුව මේ සේරම ජාති ධර්ම හැටියට ගන්න පුළුවන්.

කෙනෙක්, අනේ මට දරුවන් ඕන, දරුවන් හිටියනම් කොච්චර හොඳද කියල පැතුමක් පැතුව නම් හෝ ඒ දරුවො ලබාගන්න උත්සාහයක යෙදුන නම්, තමන්ට උරුම වෙච්ච ජාති ධර්මයක් වගේම තවත් ඒ ජාතියේම එකක් තමයි හොයන්නෙ. අන්තිමට ලැබෙන්නෙත් ඒ ජාතියේ දරුවෙක්මයි. අනෙක් භෞතික දේවලුත් එහෙමයි. මට අර වගේ ලස්සන කාර් එකක් තිබුන නම් කොච්චර හොඳද කියල, කෙනෙක් වෙහෙස මහන්සි වෙලා ඒ දේ වෙනුවෙන් කාලය කැප කරල ඒ දේ හොයනව නම්, ඒකත් මේ කොටසට දාන්න පුළුවන්. ඉතින් මේ සියල්ල හොයන්නෙ මොකටද?

ඒ ගැන හිතන්න ඕන. ඇයි මට දරුවො ඕන? ඇයි මට රන් රිදී මුතු මැණික් ඕන? ඇයි මට වාහන ඕන? දරුවො හිටියොත් කොච්චර හොඳද? දරු සුරතල් බල බලා මට කොච්චර සතුටු වෙන්න පුළුවන්ද? ඒ වගේමයි හොඳ ගෙයක්, රන් රිදී, මුදල්... ආදී අනෙක් භෞතික වස්තූත්. ඒ සේරම මේ ඇහින් බලල, කනෙන් අහල, දිවෙන් රස බලල, නාසයෙන් ගඳ සුවඳ දැනගෙන, කයෙන් පහස විඳගෙන සතුටින් ඉන්න තමයි බලාපොරොත්තුව. මේවට කියනවා පංචකාම කියල. මේ පංචකාමවලට මුල් වෙන දේවල්වලට තමයි පංචකාම ගුණ උපදීහු කියල කියන්නෙ. එහෙම නැත්නම් මේ පංචකාමය විඳගන්න උදව් වෙන මූලික වෙන දේවල්. ඒ සේරම අයිති වෙන්නෙ ජාති ධර්මවලට. කොටින්ම කියනව නම්, කෙනෙක් පංචකාමය හොයනව කියන්නෙ ඒක අනාර්ය පර්යේෂණයක් කරනවා හා සමානයි.

ඊළඟට උන්වහන්සේ ජරා ධර්ම මොනවද කියල විස්තර කළා. මහණෙනි, කුමක් ජරා ධර්ම යයි කියන්නේද? පුත්‍ර දාරාවෝ ජරා ධර්මයෝයි, දැසි දස්සු ජරා ධර්මයෝයි, එළු බැටළුවෝ ජරා ධර්මයෝයි, කුකුළන් හා ඌරෝ ජරා ධර්මයෝයි, ඇත් ගව අස් වෙළඹහු ජරා ධර්මයෝයි, රන් රිදී ජරා ධර්මයෝයි. මහණෙනි, මේ පංචකාම ගුණ උපදීහු ජරා ධර්මයෝයි. මේ ලෝ වැසි තෙමේ මෙහි ගැට ගැසුනේ මුසපත් වී බැස ගත්තේ තෙමේ ජරාව කොට ඇත්තේ ජරා ධර්මයක්ම සොයයි. (අරිය පර්යේෂණ සූත්‍රය - මජ්ජිම නිකාය 1 - 397 පිටුව)

ඉතින් දැන් අපිට ජරා ධර්ම කියන්නෙ මොකක්ද කියල තේරුම් ගන්න පුළුවන්. මෙතනදි ජරාවට පත්වෙන දේවල් තමයි ජරා ධර්ම කියල ගත්තෙ. ඒ කියන්නෙ යමක් හට ගත්ත නම් ඒ හට ගත්ත මොහොතේ පටන් ඒ දේ විපර්යාසයට ලක්වෙනවා. අළුත් ඇඳුමක් ගත්ත නම් දෙපාරක් තුන් පාරක් හෝදපු ගමන් ඒකෙ පැහැය, අර අළුත් කියන ගතිය නැති වෙනවා. ඒ වගේමයි

**දරුවන් ඉපදුන ගමන් ලස්සන හුරු බුහුටි බෝනික්කන් වගේ**

**හිටියත්, ඒ ළමයි හැමදාම එහෙම ඉන්නෙ නෑ. ටික ටික ලොකු වෙනවා. එක මට්ටමකට එනකල් මේ වෙනස හරි ආස්වාදජනකයි. තරුණ විය ඉක්මවල මැදිවිය, මහළු විය කියන වෙනස් වීම පටන් ගන්නකොට ඒ ආස්වාදය නෑ.** මේ වෙනස් වෙන ස්වභාවය හැම ජාති ධර්මයකටම පොදුයි. ජාතියක් හට ගත්ත නම් ඒක ජරාවට පත්වීම අනිවාර්ය පොදු ලක්ෂණයක්. ඒක අර ඉහතින් කිව්ව සියළුම ජාති ධර්මවලට පොදුයි. තමන්ටත් පොදු වූ ඒ ලක්ෂණය තියාගෙන ඒ ජරාවටම පත්වෙන වෙනත් දේවල් ලෝක සත්ත්වයා හොයනවා. ඒ හොයන්නෙ ඒ දේවල්වලට ඇලිල ගැලිල ගැට ගැහිල, කොහොම හරි හොයා ගන්නවා කියන මානසිකත්වයෙන්. තමන්ටත් පොදු මේ ජරාවට පත්වීම කියන ලක්ෂණය තියාගෙන ඒ ජාතියේම ජරාවට පත්වෙන දේවල් හොයන එක තමයි ලොව්තුරා බුදුන් වහන්සේ අනාර්ය පර්යේෂණ කියන ගොඩට දැම්මෙ.

සෙවීමක් තියෙනව නම් ඒක අයිති වෙන්නෙ අනාර්ය පර්යේෂණයට. එතකොට ඒකෙ අනෙක් පැත්ත තමයි ආර්ය පර්යේෂණය. ඒකත් ලොව්තුරා බුදුන් වහන්සේ පැහැදිලි කළා.

මහණෙනි, ආර්ය වූ සෙවීම කුමක්ද? මහණෙනි, මේ ලෝකයෙහි ඇතැමෙක් තෙමේ ජාති ධර්ම වූයේ, ජාති ධර්මයේ ආදීනව දැන ජාතියක් නැති නිරුත්තර වූ යෝගක්ෂෙම සංඛ්‍යාත නිර්වාණය සොයයි. තෙමේ ජරා ධර්ම වූයේ, ජරා ධර්මයේ ආදීනව දැන ජරාවක් නැති නිරුත්තර වූ යෝග ක්ෂෙම සංඛ්‍යාත නිර්වාණය සොයයි. තෙමේ ව්‍යාධි ධර්ම වූයේ, ව්‍යාධි ධර්මයේ ආදීනව දැන ව්‍යාධියක් නැති නිරුත්තර වූ යෝගක්ෂෙම සංඛ්‍යාත නිර්වාණය සොයයි. තෙමේ මරණ ධර්ම වූයේ, මරණ ධර්මයේ ආදීනව දැන මරණයක් නැති නිරුත්තර වූ යෝග ක්ෂෙම සංඛ්‍යාත නිර්වාණය සොයයි. තෙමේ ශෝක ධර්ම වූයේ, ශෝක ධර්මයේ ආදීනව දැන ශෝකයක් නැති නිරුත්තර වූ යෝගක්ෂෙම සංඛ්‍යාත නිර්වාණය සොයයි. තෙමේ සංක්ලේෂ ධර්ම වූයේ, සංක්ලේෂ ධර්මයේ ආදීනව දැන සංක්ලේෂයක් නැති නිරුත්තර වූ යෝගක්ෂෙම සංඛ්‍යාත නිර්වාණය සොයයි. මහණෙනි මේ ආර්ය පර්යේෂණයයි. (අරිය පර්යේෂණ සූත්‍රය - මජ්ජිම නිකාය 399 පිටුව).



ඉතින් මේ කතාව ව්‍යාධි ධර්ම, මරණ ධර්ම, ශෝක ධර්ම, කෙලෙසන ධර්ම කියන ඒවටත් එක වගේම පොදුයි. ව්‍යාධියට පත් වෙනවා කියන්නෙ ලෙඩ වෙනවා කියන එක. ඒකත් පොදු ලක්ෂණයක්. ඊළඟට හටගත්ත සියල්ලටම පොදු ලක්ෂණය තමයි විනාස වීම, එහෙම නැත්නම් මරණය. ඊළඟට ඒකත් එක්කම එන ශෝකය. මේ සේරම එකට අරගෙන එන්නෙ. මෙතන කෙලෙසන ධර්ම කියල ගත්තෙ, මේවා හොයන්න ගිහින් අපිට නැගෙන රාග ද්වේශ මෝහ කියන කෙලෙස්. මේ සියල්ල හොයන්න පර්යේෂණ කරන එකට තමයි එපා කිව්වෙ, ඒක තමයි අනාර්ය පර්යේෂණයට දැම්මෙ.

කොටින්ම පංචකාමයන්ට ඇලිල සසර දිගු කරන යම් වැඩපිළිවෙලක්,

උන්වහන්සේ දේශනා කළ දහම අනුව බැලිය යුතු කාරණා දෙකක් තියෙනවා. එකක් තමයි මේ ජාති ධර්ම, ජරා ධර්ම, මරණ ධර්ම ආදියේ ආදීනව දැක කියන කොටස. අනෙක් කොටස තමයි ජාති ධර්ම, ජරා ධර්ම, මරණ ධර්ම ආදිය උරුම කොට ගත් තෙමේ කියන කොටස. දැන් අපි ඉපදිලා ඉවරයි. ජාති ධර්මයක් හටගෙන. ඒකට ජරාව, ව්‍යාධිය, මරණය, ශෝකය පොදුයි. මේවා එක්ක තමයි අපිට ගනුදෙනු කරන්න වෙන්නෙ. දැන් ඉතින් නිකන් ඉන්නත් පුළුවන්, එහෙම නැත්නම් ආදීනව දැකල මිදෙන්නත් පුළුවන්. ඒත් අපි ජරාවට පත්වෙන එක, ව්‍යාධියට පත්වෙන එක, මරණයට පත්වෙන එක නවත්වන්න බෑ. මේවත් එක්කමයි ආදීනවය දකින්න ඕන. කොහොමද ආදීනවය දකින්නෙ? ඒකට පිටිපස්ස හැරිල බලන්න වෙනවා. මොකක්ද මේකට හේතුව?

ජාතිය නිකන් හට ගන්නෙ නෑ. ජාතිය ගොඩනගන්න නිකන් බෑ. ඒකට ප්‍රත්‍ය වෙන දෙයක් තියෙන්න ඕන. ඉබේ හට ගත්ත නෙවෙයි. මේ ගොඩනගන ශක්තියට කියනවා භවය කියල. භවයත් එහෙමයි. අපි ඒ ශක්තිය හදන්නෙ වැඩිපුරම උපාදාන කරපු දේවල් නිසා. මනුස්ස ගති උපාදාන කළා නම් මනුස්ස භවයක් හදල ඒ ශක්තියෙන් මනුස්ස ජාතියක් හදනවා. කෙනෙක් නිකන් උපාදාන කරන්නෙ නෑ. ඒකටත් ප්‍රත්‍ය වෙන දෙයක් තියෙනවා. ඒ තමයි තණ්හාව. වැඩිපුරම මනුස්සකම කියන තැනට හා වුණා නම්, ඒ අනුව හිතල පතල ක්‍රියා කළා නම් එතන තණ්හාවක් හට ගන්නවා. තණ්හාව නිකන් හිටියට හට ගන්නෙ නෑ. ඒකටත් ප්‍රත්‍ය වෙන හේතුවක් තියෙනවා. ඒ හේතුව තමයි වේදනාව. යමක් හිතට කයට මනසට වැදුන නම්, අනේ මේ ළමයි එක්ක ඉන්න එක කොච්චර හොඳද, මේ මගේ ළමය ලොකු වෙලා දොස්තර කෙනෙක් වුනොත් කොච්චර වටිනවද?... මේ වගේ මනුස්ස වේදනා මනසේ වැඩ කරනවා. ඒකෙන් දෙයක් මනසට වැදෙනවා, සතුටු වෙනවා. විරුද්ධව ආවොත් ගැටෙනවා. මේ දේවල්වලට වේදනාව කියල කියනවා.

මේ වේදනාවත් නිකන් හටගන්නෙ නෑ. ඇස, කන, දිව, නාසය, ශරීරය, මන කියන ඉන්ද්‍රියන් හය, අර මනුස්ස කියන කොටසට අයිති දේවල් ඇසුරේ ඉන්න කැමතියි. ඒ ඇසුරට කියනවා ස්පර්ශය කියල. ස්පර්ශයක් නිකන් හටගන්නෙ නෑ. ඉන්ද්‍රියන් හය තුල මනුස්ස දේවල් බලන්න, කරන්න, කියන්න ආයතන වෙලා තියෙන්න ඕන. ඒ වෙනස් වීමට කියනවා සළායතන කියල. මේ වෙනස් වීම නිකන් සිද්ධ වෙන්නෙ නෑ. කලින් ඒ මනුස්ස ඇසුර ලබල තිබ්බච මතක සටහන් තියෙන්න ඕන. ඒ මතක සටහන්වලට කියනවා නාම රූප කියල. මේ විදිහෙ පුහුල් ගෙඩිය වගේ ළමයෙක්, ලස්සන බිරිඳක්...

# සසර ගිනි වැටහේවා...





බුදු රජාණන් වහන්සේගෙන් ප්‍රජාපතී ගෝතමී රහත් මෙහෙණිය අහනවා, ස්වාමීනි, දැනටමත් ඔබ වහන්සේ දේශනා කරන දහම් අර්ථ විපරීත කරල සමහර අය කියනවා, ඔබ වහන්සේ ජීවමානව වැඩ ඉඳෙද්දිත් මෙහෙම නම් අනාගතයේ ඔබ වහන්සේ දේශනා කරපු දහම අනුව ධර්මානුධර්ම ප්‍රතිපත්තිය පූර්ණ කරගන්නෙ කොහොමද කියල. ඒ වෙලාවෙ උන්වහන්සේ කිව්වෙ නෑ, අනාගතයෙදි ධර්ම සංගායනා කරල, අටුවා ලියල මේ දේශනා කරන ධර්මය කඩ නොකොට ගෙනියනව කියල. බුදු රජාණන් වහන්සේ තුන් කල් දත් මහෝත්තමයාණන් වහන්සේ නිසා දේශනා කළේ, අනාගතයෙදි මේ ධර්මය විපරීත වෙලා සාසන බිය පහක් හට ගන්නව කියල. නමුත් උන්වහන්සේ ප්‍රජාපතී ගෝතමියට බුද්ධ භාසිතය වෙන් කොට හඳුන ගන්න පහසු ක්‍රමයක් දේශනා කළා. යම් දහම් මගක් ඇසුරු කරන කොට රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය වන බව පේනව නම් සහ ඒ මගින් සත්‍යාවබෝධ වන බව පේනව නම් ඒ මාගේ වචන හැටියට පිළිගන්න කියන එක තමයි බුද්ධ දේශනාව.

එක්තරා බමුණෙක් බුදුන් වහන්සේ ළඟට ඇවිත් තමන්ගෙ බමුණු වංශය ගැන උදම් අනමින් කියනවා, තමන් උභය කුල පාරිශුද්ධය ඇති බමුණෙක් කියල. උන්වහන්සේ බමුණාගෙන් කුල පිරිසිදුකම ලබපු හැටි ඇහුවම බමුණා මෙහෙම කියනවා. "මගේ මව් පරම්පරාව බමුණු පෙළපතේ පරම්පරා හතක්ම පිරිසිදුයි. පිය පෙළපතත් පරම්පරා හතක්ම පිරිසිදුයි. එහෙම පරම්පරා හත බැගින් දෙපසින්ම පිරිසිදු වෙලා ඉන්න මව්පිය දෙන්නෙකුගෙ පුතෙක් තමයි මම". බුදුන් වහන්සේ ඒ වෙලාවෙ අහනවා,

---

මේවා මතකයේ තියෙන්න ඕන. ඒකට උදව් වෙන්නෙ විඤ්ඤාණය.

විඤ්ඤාණ නිකන් ගොඩ නැගෙන්නෙ නෑ. ඒකට සිතින් කයෙන් වචනයෙන් සංඛාර කරන්න ඕන. මේ සංඛාර කරන්නෙ යමක් හොඳයි වටිනවා කියන දෘෂ්ටියේ ඉඳගෙන. මේ දෘෂ්ටියට අවිද්‍යාව කියල කියනවා. ඉතින් පිටිපස්සට බලාගෙන ගියාම ජාතිය නිකන් ගොඩ නැගිල නෑ. ගොඩ නැගිල තියෙන්නෙ අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර කරල, ඒ සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ ගොඩ නගල, ඒ විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාමරූප හදල, ඒ නාමරූප ප්‍රත්‍යයෙන් සළායතන ගොඩ නගල, ඊට පස්සෙ ඒ සළායතන ප්‍රත්‍යයෙන් ස්පර්ශයක් හදල , ඒ ස්පර්ශ ප්‍රත්‍යයෙන් වේදනාවක් ඇවිත්, ඒ වේදනා ප්‍රත්‍යයෙන් තණ්හාවක් හට ගන්නවා. මේ තණ්හා ප්‍රත්‍යයෙන් උපාදාන කරගෙන, ඒ උපාදාන ප්‍රත්‍යයෙන් භවයක් හදනවා. ඒ භව ප්‍රත්‍යයෙන් අවසානයේ ජාතිය පහළ වෙලා ඒකට උරුම ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස එනවා. ඔන්න ඔහොමයි ආදීනවය දකින්නෙ. එහෙනම් ජාතිය නවත්වන්න නම් මොකක්ද කරන්න ඕන? මේ ජාතිය පහළ කරන ශක්තිය හෙවත් භවය නසන්න ඕන. භවය නසන්න නම් උපාදානය නසන්න ඕන. ඒ විදිහට හිතල පසුපසට ගිහින් බලල, එක එක ප්‍රත්‍ය නසන්න ක්‍රම හොයනවා කියන්නෙ, ආර්ය පර්යේෂණයක් කළා කියන එක. ඒ පර්යේෂණයේ කෙළවර කලින් වගේ ජරා, ව්‍යාධි, මරණ, ශෝක... නෙවෙයි. ඒවායින් මිදුන නිවන.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු ද සමගින් අරිය පර්යේෂණ සූත්‍රය ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**

ඔබේ පියා බමුණෙකුටම දාව ජාතක වෙලා තියෙන බව ඔබ කොහොමද දන්නෙ, ඒ වගේම ඔහුගේ පියා ගැන, ඒ පියාගෙත් පියා ගැන ආදී වශයෙන් කොහොමද ජාතකය හරියට දන්නෙ කියල. මෙහෙම ඇහුවම බමුණා කතා නැතිව බිම බලා ගත්තා. බුදුන් වහන්සේ දේශනා කරනවා, බමුණ නුඹ නොදන්නා ජාතකයක් ගැන දෘෂ්ටිගත වෙලා ඉන්නවා, බමුණු දහම හරියට අරගෙන රැක්ක නම් මිසක් නුඹ කොහොමද පරපුරෙන් බමුණෙක් වෙන්නෙ කියල.

දැන් බැරි වෙලා හරි මේ කතාව දැනගෙන, අන්‍ය ආගම් ලබ්ධිකයෙක් අපෙන් මෙහෙම ඇහුවොත්, "නුඹලට පරම්පරාවෙන් මහණකම හරි බෞද්ධකම හරි ආපු ක්‍රමය කියන්න පුළුවන්ද? එහෙම ආව කියල නුඹලට හිතන්න කරුණු තියෙනවද? ඔය පරම්පරාවෙ හොරෙන් ස්ත්‍රීන් සමග සංවාසයේ යෙදිල පාරාජික වෙච්ච කෙනෙක් එහෙම අනිත් ගෝලයො මහණ කරගෙන හිටිය නම් එහෙම වුණේ නැහැ කියල කියන්න නුඹලා දන්නවද? ඔහොම දෘෂ්ටි ගත වෙලා නුඹලා කොහොමද හරි මග යනව කියන්නෙ? ශ්‍රමණ දහම දැනගෙන රැක්කෙ නැත්නම්, නුඹලා කොහොමද බුද්ධ සාසනයේ සිවු පිරිසේ අය කියල කියන්නෙ?" දැන් මෙහෙම ඇහුව නම්, අපිටත් වෙන්නෙ අර බමුණාගෙන් බුදු රජාණන් වහන්සේ අහපු වෙලාවෙ බමුණා වගේ බිම බලාගෙන කතා නැතිව ඉන්න වෙන එක නේද කියල අපි හිතනව නම්, හරියට දහම් මග ගන්න අපිටත් පුළුවන් වෙනවා.

**(සාසනය තුළ පැවිදි බවින් ලබා ගන්න ප්‍රයෝජනය ගන්න බැරි තත්ත්වයට පත් වුණ හෙවත් පරාජ වෙච්ච - පාරාජිකා. ගෝ + ආලය - ගෝලයා - ගවේෂණයට ආලය කරපු කෙනා. ගවේෂණය කළේ යහපත් චේතනාවකින් නම්, යහපත් කෙනාගෙන් ගවේෂණය කළ කෙනා යහපත් ගෝලයෙක්. අයහපත් කෙනාගෙන් ගවේෂණය කළ කෙනා අයහපත් ගෝලයෙක්.)**

දැන් අපි මෙහෙම විමසල බලමු. කුඩා කාලෙ ළදරුවන් විදිහට අපි ඉපදුනා. ඒ කාලෙ අපේ රාග සහ ද්වේශ සිත් තදබල විදිහට මතු වුණාද? අපේ හිතට අද පවතින දැඩි ගති, ප්‍රශ්න එදා තිබුණද? රාගයෙන් රත් වෙන හිතක් තිබුණද? වෛරය, පළිගැනීම එදා අපට තිබුණද? අනුන්ගෙ වැරදි හොයන හිතක්, ඇනුම් පදයකට අපහාසයකට නොසතුටක්, වෛර බැඳගත් හිතක් අපට එදා පහළ වුණාද? කුඩා කාලෙ ළමා වයසෙදි අතින් පයින් ගහ ගත්තත් පැයක් යන්නත් කලින් සියල්ල අමතක කරල හිතවත් වුණේ නැත්ද? මේ තමයි එදා හැටි. ඒත් දැන් එහෙම බැරි ඇයි? මේ කියන්නෙ ළමයි ඉතාම පිරිසිදුය කියන එක නෙවෙයි. ළමා මනස පිරිසිදු බව බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. නමුත් ළමා මනසත් කාම සෙල්ලම් බඩු වගේ දූෂ්‍ය පරිසරය විසින් දූෂණය කරල තියෙන බව පේනවා. එහෙම නොවුණ නම් ළමයින්ගෙ හිතේ පිරිසිදුකම හොඳින් පවතින්න ඕන.

ඒ නිසා අපි කළ යුත්තේ, අපි නිවැරදියි කියන සම්මතයට බහින්න පෙර, අපිට පේන්නෙ නැති වැරදි අපි ළඟ තියෙනවද කියල අවංකවම මධ්‍යස්ථව සොයා බැලීම. "මට හිතෙනවා ලස්සන ගෙයක් හදන්න, දරුවට උගන්වලා නඩුකාරයෙක් කරන්න, ඉංජිනේරුවෙක් කරන්න." මේ වගේ කතා අපි ළඟ කොච්චර නම් තියෙනවද? මේ වගේ අපිට එන අදහස් ගැන හිතල තිබුණ නම්, සුන්දර ලෝකයේ උසස් තත්ත්ව තානාන්තර බලා-පොරොත්තුවෙන් ඉන්න හැටි පේනවා. නිලතල තානාන්තර ගැන "මට" හෝ ''මගේ අයට'' කියල ගන්නව නම්, ඒ පුද්ගලයගෙ හිත පිහිටල තියෙන්නෙ කොතැනද කියල බලන්න ඕන. තරඟකාරී ලෝකයේ හිත සටනක යෙදිල ඉන්න බව බැලූ බැල්මට නොපෙනෙන්න පුළුවන්. ඒකෙ වරදක් නෑ කියල හිතෙනව නම්, නිවන කොච්චර දුරද කියල හිතාගන්න පුළුවන්.

**හැම බෞද්ධයෙක් තුළම අනුමාන වශයෙන් හරි නිවන පිළිබඳ දැනීමක් තිබිය යුතුයි.** නමුත් ඒක බොහොම බැරෑරුම් කාරණයක් කියල අද බොහෝ විට හිතෙන්න පුළුවන්. කාම බවට පත් වෙච්ච හිත්වලින් නම් නිවන දැක ගැනීම ඉතා අමාරු බව ඇත්ත. සමහර විට මානසික සුවය දෙන නොයෙක් අවස්ථාවන් දැක්කම මගඵල කියල රැවටෙන වාරත් බොහොමයි. එහෙනම් නිවන පිළිබඳ අනුමාන ඥානයක් ඇතිකර ගන්නෙ කොහොමද? අපි නම් නිවන ගැන දන්නවා කියන සමහර අය, පොත්පත් බලල හරි භාවනා කරල හරි ස්වාමීන් වහන්සේලාගෙන් අහල හරි එහෙම දැනගත්ත බව කියන්න පුළුවන්. පෙළ දහම් පොත්වලින් බලා ගත්ත අය, සියල්ල අත්හැරීම, මිදීම, නොඇල්ම නිවන කියලත් කියන්න පුළුවන්. සංසාරෙ ඉපදීම නැති කිරීම නිවනයි කියල කියන අයත් ඇති. සමහර භාවනා ක්‍රමවලදි පාවෙන ස්වභාවයන්, නොයෙක් මානසික සුවයන් ගෙන දෙන අරමුණු ඇතිවීම ආදිය දැනිල, මම නම් මාර්ගඵල ලබල ඉන්න බව දන්නව කියල කියන අයත් ඉන්නවා.

දැන් මේ ගැනත් හිතල බලන්න. නිවන කියන්නෙ නිවීම. නිවන්නෙ ගින්න. ගින්න පේන්නෙ නැත්නම්, දන්නෙ නැත්නම්, නිවන්න දෙයක් දකිනවද? නිවන්න පෙර ගින්න වැටහිලා තියෙනවද කියල බලන්න. දුක් ගින්න නම් අපි කාටත් දැනෙනවා. දුක් වේදනාව, තමන්ගෙ අදහස් ඉටු නොවීම, කායික මානසික වේදනාවලදි දුක් පවතින කොට ඇති වෙන දාහය... ආදී වශයෙන් මෙහෙම දැක්ක පළියට දුක්ඛ ආර්ය සත්‍යය හොඳට වැටහෙනව කියල කලබල නොවිය යුතුයි.

අපි විඳින, අපි දකින දුක් ගින්න ගැන හිතමු. උයන්න, දර හොයන්න, රෙදි හෝදන්න, හම්බ කරන්න, ළමයි පාසල් යවන්න, කිරිපිටි, ඇඳුම් අරන් දෙන්න, දරුවා නාගරික උසස් පාසලකට යවන්න... මේ ආදී වශයෙන් දහසක් දේට උදේ ඉඳන් රෑ වෙනකල් මහන්සි වෙනවා. "මේවා නොකර බැරි දේවල්. මම නම් විඳින්නෙ මහ අපා දුකක්" සමහරු මෙහෙම කිය කියා කටයුතු කරනවා. ඊළඟට මොකද වෙන්නෙ? අන්තිමට බලන කොට ළමය මත්කුඩුවලට ඇබ්බැහි වෙලා. ගෙදර තියෙන බඩු මුට්ටු ටික විකුණගෙන නිකරුණේ යාළුවො එක්ක රස්තියාදු ගහනවා. "අනේ මං වගේ පව්කාරියක්. මට නම් දැන් සංසාරෙ කලකිරිල. ඕන දෙයක් වෙච්ච දෙන්" දැන් මේ වගේ කතාත් කියනවා. ළමයා දෙමව්පියන්ට ගහන්න බණින්න ආව නම් තවත් හිත් වේදනා වැඩි වෙනවා. බැණල ගහල පැන්නුව නම් හරි, ලේලි කෙනෙක් එක්ක අමනාප වුණා නම් හරි, හිතට දැනෙන්නෙ හරි වදයක්. "උන්ට යටත් වෙලා මට ජීවත් වෙලා වැඩක් නෑ." මේ තවත් අදහසක්. බැරි තැන අඬනවා, දුක් වෙනවා. "මට නම් මොකුත් එපා. මම යනවා පන්සලට භාවනාවක් කරන්න. මට නම් දැන් හොඳට දුක තේරෙනවා. මුන් ඉන්න ඉසව්වකවත් ඉපදෙන්න එපා." මෙහෙම කියල අන්තිමට ද්වේශ සහගතවත් කතා කරනවා. දැන් අපි මේ වගේ කාරණා නිසා

වේදනා චෛතසිකයෙන් විඳින දුකක් තියෙනවා. මේ දුක මොකක්ද?

පිදුරු ගොඩේ නිදියන බල්ල ගැන හිතල බලන්න. ඌ රස්නෙට නිදියනවා. තව බල්ලෙක් උගේ මායිමට ආවොත් කන්න පනිනවා. ඒ නිදියන බල්ලත් හපල පැන්නුවොත් අසරණ වෙලා නකුට පහතට කරගෙන අකමැත්තෙන්ම කෑගහගෙන දුවනවා. අපිට දින දීල අපිව මරන්න දාමරික කල්ලියක් ආව නම්, ඉන්න තැනින් යන්න අණ කළා නම්, අපිත් යන්නෙ අර බල්ල වගේ නෙවෙයිද කියල හිතල බලන්න. නමුත් අද හොඳ පින්කමක්, ශ්‍රමදානයක් තියෙනවා, දින දෙකක් විතර සහභාගි වෙන්න කියල කව්රුහරි කිව්වොත් මොකද කියන්නෙ? අනේ මට වැඩ තියෙනවා, කොහොමද වරුවක්වත් නිවාඩු ගන්නෙ කියනවා. නමුත් යන්න තැනක්වත් බලන්නෙ නැතිව දාමරික කල්ලියක් කිව්ව නම් පලයං කියල, අණ පිළිපැද්දෙ නැත්නම් මරයි කියන බයට සියල්ලම දමල පැනල දුවනවා. ඒ ඇයි? එක අත්බවයක එන මරණ බයට.



මේ වගේ අනන්ත සංසාරෙ පටන් මැරි මැරි ඉපදිලා සියල්ල දම දමා යනවා. ගිහින් තව එකක් අල්ල ගන්නවා. එහෙම ආපු සසර ගමනක් තමයි අපි හැමෝටම තියෙන්නෙ. හැබැයි කොහේ ගියත් මාරයා පස්සෙන් එළවනවා. අපි අල්ල ගත්ත දේවල් දම දමා යමින් සසර සැරිසරනවා. බුදුන් වහන්සේ මේ ගැන දේශනා කළාට, උන්වහන්සේගෙ දේශනාව අර දාමරිකයන්ගෙ කීම තරම්වත් ගණන් ගත්තද කියල හිතල බලන්න. "ශ්‍රද්ධාව කියන්නෙ විස්වාසයට. බුදු රජාණන් වහන්සේ ගැන මට නම් තියෙන්නෙ අචල ශ්‍රද්ධාවක්." සමහරු මෙහෙමත් කියනවා. ඒ වුණාට දාමරික කල්ලියේ දූනුම් දීම ඊට වඩා විස්වාස කරල ගෙදර දොරේ බඩුමුට්ටු සේරම දමල එක අත්බවයක පණ බේරගන්න පැන ගන්නවා. බුද්ධ වචනය ගැන විස්වාසය තිව්වයි කිව්වෙ හැබෑවටද කියල දූන් කල්පනා කරල බලන්න.

තවත් උපමාවක් අරගෙන බලනව නම්, අපි හිතමු අපේ ළඟම ඥාතියෙක් එංගලන්තෙට ගියා කියල. අපිත් හරි ආසයි එහේ යන්න. ඒ ඇයි? හොඳ සැපවත් ජීවිතයක් ගත කරන්න. ඉතින් ගිය කෙනාට බොහොම ජයයි. අවුරුද්දකින් පස්සෙ ඔහු ගමට ඇවිත් මෙහෙම කියනවා. "මම එහේ පුරවැසිකමත් ගත්තා. ඉඩමකුත් මගේ නමට ගත්තා. තව අවුරුද්දකින් ගෙදර හැමෝමත් එක්කන් යන්නයි බලාපොරොත්තුව. තව අවුරුද්දකින් යන්න බලාපොරොත්තු වෙන්න" දූන් මෙහෙම කියල ඒ ඥාතියා නැවතත් එංගලන්තයට ගියා කියල හිතමු. දූන් ඒ පවුලෙ අයට හරි සන්තෝසයි. දූන් ඉඳන්ම ගමනට සූදානම් වෙනවා. මේ අතර තව කෙනෙක් ඇවිත් කියනවා, මට ගේකට බඩු වගයක් හම්බ වුණා, උළු, ගඩොල්, ලී මේ ඔක්කොම හරි අඩක් ලාබෙට ගන්න පුළුවන් කියල. මුලදි ඒ කෙනාට පණිවිඩයකුත් කියලයි තිබුණෙ ගේකට බඩු හොයල දෙන්න කියල. නමුත් දූන් මොකද කියන්නෙ? "දූන් නම් ගේ හදන්න බලාපොරොත්තුවක් නෑ. අපි ලබන අවුරුද්දෙ රට යන්නයි ඉන්නෙ." මෙහෙම කියනව නේද? දූන් ණයට දීපු මුදල් තියෙනව නම් යුහුසුළුව ආපසු ගන්න බලනවා. විකුණල මුදල් කර ගන්න පුළුවන් දේ විකුණනවා.

මේ අතර තවත් කෙනෙක් කියනවා, රුපියල් 25,000/= ක පොළියක් එක්ක මාසයකින් ආපසු දෙනවා මට රුපියල් 100,000/= ක් ණයට දෙන්න කියල. ඒ මුදල ණයට දීල නැවත ගන්න කාලය තියෙන නිසා, දෙන්න කැමති වෙලා හෙටම දෙන්නම් කියනවා. එදාම රට ඉන්න ඥාතියගෙන් තවත් පණිවිඩයක් එනවා, වැඩේ හිතුවට වඩා සාර්ථකයි, කොයි මොහොතෙ හරි එක්කන් යන්න එනවා සූදානම් වෙලා ඉන්න කියල. දූන් ණය මුදල දෙන්න පොරොන්දු වුණාට, යන්න වෙන නිසා දෙන්න බෑ කියනවා. දූන් කලින්ටත් වඩා ලහි ලහියේ ගමනට සූදානම් වෙනවා. ඉතින් මේ ගමන යුද්ධයක් නිසා නතර වෙන්නත් පුළුවන්. රට ඉන්න කෙනා හදිසියේ මියගියා නම් ඒත් නතර වෙනවා. යන්න ඉන්න තමන්ගෙ පිරිසෙ කෙනෙකුට ලොකු කරදරයක් වුනා නම් ඒත් නතර වෙනවා. ඒ වුණාට එහෙම වෙයි කියල ගණන් ගන්නෙවත් හිතන්නෙවත් නෑ, ගමනට තියෙන ආසාව නිසාම උදම් අනනවා, යන්න සූදානම් වෙනවා.

ඉතින් මේ විදිහෙ කතා කිව්වත්, කොහොමවත්ම නොගිහින් බැරි ගමනක් කොයි මොහොතේ හෝ යන්න වෙන බවට ධර්මතාවයෙන්ම පණිවිඩයක් අපි හැමෝටම ලැබිල තියෙනවා. ඒ වුණාට ඒ පණිවිඩය අපි සතයකටවත් ගණන් ගන්නෙ නෑ. ඒකාන්තයෙන්ම තනියම හුදෙකලාවමයි අපිට ඒ ගමන යන්න වෙන්නෙ. ඒ තමයි මාරයා අඬ ගහන මරණ මොහොත. මේ තරම් වටිනා බුදු වදනක් ගණන් නොගෙන, ආසාවන්ට වසඟ වෙලා ඉන්න අය මේ සංසාරය තුළ ගිනි දකිනවද නිවන දකිනවද කියල හිතල බලන්න.

**අනන්ත සංසාරෙ කරපු පව් හැම දෙනාටම තියෙන බවත්, කොච්චර පින් කළත් සමහර විට ඒ පාපයක් ඇදිල ආව නම් අපාගත වෙන්න පුළුවන්**

**බවත්, අඩු තරමින් සෝතාපන්නවත් වුණා නම් සතර අපායෙන් බේරෙන බවත්** බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. මෙහෙම සංසාරෙට ඇලුම් කරන්නෙ කාගෙ පිළිසරණක් බලාපොරොත්තුවෙන්ද කියල හිතන්න. මේ කාරණය අපි ගණන් ගත්තෙ නැත්නම් මොකද වෙන්නෙ? මරණය එන බවත්, යන්න වෙන්නෙ තනියම බවත් අපි නොදන්නව නෙවෙයි. නමුත් මෙහෙම බලන කොට මාර පාක්ෂික බලය අල්ලගෙන ආසාවන්ට වහල් වෙලා ඉන්න තරම, කොච්චර නම් මුළාවකද අපි ඉන්නෙ කියල තේරුම් ගන්න පුළුවන්. අපිට වේදනා චෛතසිකයෙන් එන දුක දැනිල සිල් ගත්තම, අචල ශ්‍රද්ධාව තියෙනව කියල හිතුවට, මේ වගේ වැරදි ආකල්පවල ඉඳන් නිවන් දකින්න බෑ. රැවටෙන හිත මෝඩයි. ආසාවන් නිතර පවතින කොට ගේ දොර ඉඩකඩම්... ආදී කාම සම්පත්වලට බැඳිල තියෙන කාම සිත් ඇති වෙනවා. අපිට මේවා පිළිබඳ ඇලීම තියේ නම් ඒ සිත්වලින් නිවන් දකින්න බෑ.

පෙර අත්බවයෙ කොහේ ඉඳල ආවද කියල දැක්කෙ නැති වුනාට, මතු උපදින අත්බවය දැක්කෙ නැති වුනාට, මේ අත්බවයෙදිම ගින්න දැක ගන්න පුළුවන් කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. මහණෙනි, ඇස ඇවිළ ගත්තේය, රූපය ඇවිළ ගත්තේය, ඇසත් රූපයත් නිසා ඇති වන චක්ඛු විඤ්ඤාණය ඇවිළ ගත්තේය, කන ඇවිළ ගත්තේය, ශබ්දය ඇවිළ ගත්තේය, කනත් ශබ්දයත් නිසා වන සෝත විඤ්ඤාණය ඇවිළ ගත්තේය, නාසය ඇවිළ ගත්තේය, ගන්ධය ඇවිළ ගත්තේය, නාසයත් ගන්ධයත් නිසා වන ඝාන විඤ්ඤාණය ඇවිළ ගත්තේය, දිව ඇවිළ ගත්තේය, රසය ඇවිළ ගත්තේය, දිවත් රසයත් නිසා වන ජිව්හා විඤ්ඤාණය ඇවිළ ගත්තේය, කය ඇවිළ ගත්තේය, ස්පර්ශය ඇවිළ ගත්තේය, කයත් ස්පර්ශයත් නිසා වන කාය විඤ්ඤාණය ඇවිළ ගත්තේය, මන ඇවිළ ගත්තේය, ධර්මයෝ ඇවිළ ගත්තේය, මනත් ධර්මයෝත් නිසා වන මනෝ විඤ්ඤාණය ඇවිළ ගත්තේය, කුමකින් ඇවිළ ගත්තේද? රාගයෙන් ඇවිළ ගත්තේය, ද්වේශයෙන් ඇවිළ ගත්තේය, මෝහයෙන් ඇවිළ ගත්තේය.

මේ විදිහට එක ඉන්ද්‍රියකින් ඇවිළ ගැනීම් 5 බැගින් පෙන්වා තියෙනවා. ඒ කියන්නෙ ඇස, රූපය, චක්ඛු විඤ්ඤාණය, චක්ඛු සම්පස්සය, චක්ඛු සම්පස්සජා වේදනාව, කන, ශබ්දය, සෝත විඤ්ඤාණය, සෝත සම්පස්සය, සෝත සම්පස්සජා වේදනාව... ආදී වශයෙන් ඉන්ද්‍රියන් හයට තිස් පොළක් පෙන්වා තියෙනවා. ඉතින් මේ දහම වටහා ගත්ත නම් අපිට නිවීම වැටහෙන බව සහතිකයි. නිවන් දකින හැටි එතකොට පැහැදිලි වෙනවා.

දැන් ඇවිළෙන හැටි පැහැදිලි කරගන්න ඕන. ඇස කොහොමද ඇවිළෙන්නෙ? මට ඇස් දෙකක් තියෙනවා. මගේ පියාට ඇස් දෙකක් තියෙනවා. අත්තා, මුත්තා ආදී මගේ පරපුරේ අයටත් ඇස් දෙකක් තිබිල තියෙනවා. මගේ උපතෙදි මට තිබුණෙ ළපටි කුඩා ඇස් දෙකක්. මවගෙ ගැබ තුළ හිටපු නව මාසයකට පෙර ළපටි ඇස් දෙක තිබුණද? ඒ කාලය තමයි මේ මස් ලේ ඇස් දෙක උපන් මුල් අවධිය. පහළ වුණේ මොනවායින්ද? මව ගන්නා ආහාර කෙළ සමග සෙම සමග බඩට ගිහින් පිත සමග ආමාශයික අම්ල සමග පැහිල ලෙයට උරා ගත්ත රසයන් ඒ ලේවලින් අරගෙන ගැබට ගිය ඕජසින් මූලාරම්භ කරල තියෙනවා. කර්ම ශක්තියේ ක්‍රියාවට අහු වෙලා මේ ඇස් පහළ වුනා. ඒක මව විසින් කළා නෙවෙයි. තමා විසින් කළාත් නෙවෙයි. මවත්, තමාත් දෙන්නම ඒ ගැන දන්නෙ නෑ. මේ විදිහට කන, දිව, නාසය, ශරීරය කියන ඉන්ද්‍රියනුත් හැදිල තියෙනවා.

මගේ පරපුරේ පෙර හිටපු සියලු දෙනාත් මේ විදිහටම පහළ කරගත් ඇස්, කන්, නාසාදී ඉඳුරන් ඇතිව මේ ලෝකයට බිහි වෙලා තියෙනවා. ඒ හැම ඇසක්, කනක්, නාසයක්... ආදී හැම ඉන්ද්‍රියක්ම එසේ හටගෙන ළපටි වයස, ළමා වයස, ගැටවර වයස, තරුණ වයස, මැද වයස, සමහර විට මහළු වයසත් කියන මේ කාලය තුළ එකම රටාවකට හැදිල වැඩිල මෝරල අන්තිමට දුර්වල වෙලා වැහැරිලා වැනසිලා කුණු වෙලා දිරල ගියා මිසක් එකදු ඇසක්, කනක් ආදී ඉන්ද්‍රියක් පැවතිලා නැති බව පේනවා. මේ කාරණය හැමෝටම නිසැක අත්දැකීමක්. ඒ කාලයේ අන්ධ බව, බිහිරි බව, කායික රෝග, දාහ දුක් වේදනා, කැඩීම් බිඳීම්, වැහැරීම්, පණු අමාරු, ගෙඩි, වණ, පිළිකා... ආදී දහස් ගණන් රෝගාබාධවලට ගෝචර වෙන්නත් ඇති. එහෙම වෙන්න හේතු ඇති නිසාම, එහෙම වෙච්ච කියන බයෙන් තැති ගැන්මෙන් මුළු ජීවිත කාලයම ඒ හැම දෙනාම ගෙවල තියෙනවා. සදාකාලිකව පවතින විදිහට වටිනා දෙයක් ලැබුණ කියල හිතාගෙන හිටියත්, කොතෙක් හොඳින් පවත්වන්න කැමති වුනත්, උත්සාහ කළත්, ඒ එක් අයෙකුටවත් එහෙම කරන්න බැරි වුනා.

මේ හැම ඉන්ද්‍රියක්ම හට ගත් දා පටන් වැනසෙන තුරු මහා වටිනා දෙයක් කියල හිතාගෙන හිටියත්, දුක් වේදනා දෙන තරමක් දීල තියෙන්නෙ ඒ ඉන්ද්‍රියන් ඇසුරෙන්මයි. පෝෂණය කළේ නැත්නම් ඇති වන වෙහෙස හැමෝටම පොදුවේ ඉතා දැඩියි. යම් තරමක් කායික වේදනා දුන්න නම්, ඒ හැමෝටම ඒ වේදනා දීල තියෙන්නෙ ඒ ඉඳුරන් හේතුවෙන්මයි. ඒ කාටවත් නිදහසේ එක දවසක් හෝ පිරිසිදු නොකර ඉන්න ඉඩ දීල නෑ. එහෙම හිටිය නම්, දුගඳක්ම පිළිකුලක්ම ඇති කළා මිසක්, හට ගත් දා පටන් වැනසෙන තුරු සුවඳ දීපු දවසක් කිසිවෙකුටත් නෑ. සුවඳ රස මධුර දේ කොච්චර ලබා දීල කොච්චර පිරිසිදු කළත්, ඒ ඉඳුරන් සිද්ධ කළේ හැම තැනින්ම අසූචි අපද්‍රව්‍ය පිට කිරීම විතරයි. ප්‍රියමනාප රස, සුවඳ... ආදියෙන් දුන් සියල්ලම අප්‍රියෙන් අමනාප දුගඳ නීරස කුණු බවට පත් කරල අසූචි මළ මුත්‍ර විදිහට පිට කර හැරීම විතරයි.

**බලාපොරොත්තු වෙච්ච හැම සතුටක්ම, සැනසීමක්ම, ඉච්ඡාවක්ම පුස්සක් බවට පත් කරල සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසාදී මහා ගිනි අවුළුවමින් ඉච්ඡා භංගත්වයට පත් කරල වැනසිලා ගියා මිසක්, නිවීමක් සැනසීමක් ලබා දීල සැනසිල්ලෙ පවත්වන්න පුළුවන් එකම ඉන්ද්‍රියක්වත් අනන්ත සසර පටන් මේ මොහොත දක්වාම කාටවත් ලැබිල නෑ. එහෙම වුනේ ඒ "මම, මගේ" කියපු සියල්ලේම අසාර වූ ධර්ම ස්වභාවය නිසා. ඉන්ද්‍රියන් සහිතව "මම" කියල හිතාගෙන ඉපදිලා තිබුනෙත්, ඉපදිලා තියෙන්නෙත්, මතු උපදිනව නම් උපදින්නෙත්, මෙබඳුම අසාර වූ දුක් ගිනි පොදිම බව දැක්කම තමයි නොපෙනෙන ලෝක ගින්න වැටහෙන්නෙ. එවන් වූ ලෝ ගිනි හැමදෙනාටම වැටහේවා !**

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් නැවත මතු කරන ලද දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ගති ආකර්ෂණය තව දුරටත්...



ගති ආකර්ෂණය අනුව සත්ත්වයන්ගේ ගති ලක්ෂණ තුලින් භෞතික සක්වල නිර්මාණය වන ආකාරය පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. තවදුරටත් මේ ගති ආකර්ෂණ නියමය ක්‍රියාත්මක වන ආකාරය පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් සමාධියෙන් මතු කරගත් කරුණු ඇසුරින් කෙරෙන විග්‍රහයක් තමයි මේ. කවුරුහරි ඇහුවොත් මේවා මොන පොතේද තියෙන්නෙ කියල එහෙම පෙන්වන්න තැනක් නෑ. මේවා උන්වහන්සේගෙ ශ්‍රාවක ඥානයට ගෝචර වෙච්ච දේවල්. පටිච්ච සමුප්පාදය ගැන අවබෝධයක් තියෙන කෙනෙකුට නම් මේවා කියන කොටම ගෝචර වෙනවා. ත්‍රිපිටකයෙත් යම් යම් සූත්‍රවල මේ කරුණුවලට අදාළ ධර්ම කරුණු සඳහන් වෙනවා.

බුදු පියාණන් වහන්සේ එක අවස්ථාවක, භික්ෂූන් වහන්සේලා එක එක මහ රහතුන් වහන්සේලා සමග එකතු වෙලා ඉන්න හැටි දැකල ආනන්ද හාමුදුරුවන්ට මෙහෙම පවසල තියෙනවා. බලන්න ආනන්ද අර ප්‍රඥාවන්ත ගැඹුරු දහම්වලට කැමති භික්ෂූන් සැරියුත් මහ රහතුන් වහන්සේ එක්ක එකතු වෙලා ඉන්නවා. සෘද්ධිවලට කැමති භික්ෂූන් මුගලන් මහ රහතුන් වහන්සේ එක්ක එකතු වෙලා ඉන්නවා. විනය දරාගෙන ඉන්න භික්ෂූන් උපාලි මහ රහතුන් වහන්සේ එක්ක එකතු වෙලා ඉන්නවා. ඒ වගේම අසත්පුරුෂ ගති ලක්ෂණ තියෙන භික්ෂූන් දෙව්දත් හාමුදුරුවොත් එක්ක එකතු වෙලා ඉන්නවා. මේ බුදු පියාණන් වහන්සේ ගති ආකර්ෂණය ක්‍රියාත්මක වෙන හැටි පැහැදිලිව පෙන්වා දීපු අවස්ථාවක්.

දැන් යම් බෝගයක් වගා කරන කොට අපි මහ පොළොවට පොහොර දානවා. ගස් වැල්වලට ඒවා උරා ගන්නවා. අද කෘෂිකර්ම විද්‍යාවෙන් හොයාගෙන තියෙනවා ශෂ්‍ය මාරු ක්‍රමයක් පිළිබඳව. ඒ කියන්නෙ එකම බෝගය එක තැනක එක දිගට වගා කරන්නෙ නෑ. කිහිප වතාවක් එක බෝගයක් වගා කළාට පස්සෙ වෙන බෝගයක් එතන වගා කරන්න කියල තමයි උපදෙස් දෙන්නෙ. දෙතුන් පාරක් මුං වැපුරුවොත් ඊළඟ වතාවෙ මෑ වපුරනවා. එහෙම නැතුව එක දිගටම මුං වැපුරුවොත් මුං අස්වැන්න අඩු වෙනවා. ඒ වගාවෙ සශ්‍රීකත්වය අඩු වෙනවා. වගාව දුර්වල වෙනවා. ලැබෙන ඵලදාවෙ රසය ගුණය පවා අඩු වෙනවා. එකම බෝගය එක දිගට දෙතුන් පාරකට වඩා වගා කරන්න බෑ. ඊළඟ වතාවෙ වෙනත් බෝගයක් වගා කරන්න ඕන. එතකොට අලුතෙන් වගා කරපු බෝගය හොඳට සශ්‍රීකව වැවෙනවා. දැන් ඒ බෝගය වතාවක් දෙකක් වපුරල අස්වැන්න ගත්තට පස්සෙ නැවතත් මුලින් වගා කරපු බෝගය වගා කරනවා. එතකොට නැවතත් ඒ බෝගය හොඳට සශ්‍රීකව ඵල දරල හොඳ අස්වැන්නක් ගන්න පුළුවන් වෙනවා.

මේවා පිළිබඳව අපේ පැරැන්නො හොඳින් දැනගෙන හිටියා. බුදු දහම බබළපු කාලවල ඒවාට නියම හේතුවත් දැනගෙන හිටියා. අද අත්දැකීමෙන් හරි කවුරුහරි කියල දුන්න නිසා මේවා දන්නවා මිසක් නියම හේතුව කියන්න දන්නෙ නෑ. අද ගොඩක් දේවල් පැරැන්නො කරපු නිසා පුරුද්දට කරනවා මිසක් නියම හේතුව දැනගෙන කරන්නෙ නෑ. ආදී පැරැන්නන් බුදු දහම ගැන අවබෝධයකින් හිටපු නිසා තමයි හැම තිස්සෙම හේතුව ගැන අවබෝධයෙන් කටයුතු කළේ. කවුද අපිට මේක කියල දුන්නෙ? බුදු පියාණන් වහන්සේ තමයි හේතු ඵල දහම අපිට කියල දුන්නෙ. ඊට පස්සෙ රහතන් වහන්සේලා සහ උන් වහන්සේලාගෙන් අසා දැනගත් ආර්ය පිරිස නිසා මේවා සමාජය තුල පවත්වාගෙන ආවා. හැබැයි ඒ ආර්ය පිරිස ක්‍රමයෙන් අඩු වෙන කොට ඒ දැනුමත් සමාජයෙන් ඈත් වුනා. ඊට

පස්සෙ හේතුවට පිළියම් යොදනවා වෙනුවට ඵලයට පිළියම් යොදන ක්‍රම තමයි ඉස්මතු වෙන්න පටන් ගත්තෙ. ඒ නිසා අද දුකින් මිදෙන්න දුක නමැති ඵලයට පිළියම් යොදන ක්‍රම තමයි ජනප්‍රිය වෙලා තියෙන්නෙ. දුකට හේතුව වන තණ්හාවෙන් මිදෙන ක්‍රමය යටපත් වෙලා. දුකේම ගැලිල දුකෙන් මිදෙන්න හදනවා.

අද බොහෝ දෙනෙක් යමක් කරන්න කලින් කරන වැඩ පිළිවෙලක් තියෙනවා. ගොවියෙක් ගත්තොත් කුඹුරට ගිහින් වැඩ ආරම්භ කරන්න පෙර උදැල්ලට වඳිනවා. පෙදරේරුවා තමන්ගෙ පෙදරේරු වැඩට උදව් දෙන ආයුධවලට වඳිනවා. වෙළෙන්දො තරාදියට වඳිනවා. ගෙදර ගෘහනිය බත් මුට්ටියට වඳිනවා. රියදුරු මහත්තය රියේ සුක්කානමට වඳිනවා. පෙර අය කරපු නිසා ඔවුනුත් කරනවා. හිතාගෙන ඉන්නෙ ඔවුන්ට ජීවිකාව කරගෙන යන්න උදව් දෙන ආම්පන්න ටිකට ගරු කළාම ඒකෙන් තමන්ට ලාභයක් ලැබෙයි කියල. එහෙම කළේ ඇයි කියල දන්නෙ නෑ. පෙර බොදුනුවෝ යමක් කරන්න කලින් වැඳ නමස්කාර කළේ බුදු පියාණන් වහන්සේ සිහි කරල. තුන් පාරක් වැන්ද නම් ඒ සිහි කළේ බුද්ධ, ධම්ම, සංඝ කියන තුනුරුවන්. ඔවුන් කළේ යමක් කරන්න කලින් පිනක් කරන එක. බුදු ගුණ, දම් ගුණ, සඟ ගුණ සිහි කරල ප්‍රසන්න මනසකින් යුතුව අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් වැඩ ආරම්භ කළා. අඩුම ගානෙ නමෝ බුද්ධාය කියල තමයි වැඩක් පටන් ගත්තෙ. එතකොට වැඩේ සාර්ථක වෙනවා. ඒක තමයි නියම නැකත. ඒ කියන්නෙ කැත නෑ. ලෝභ ද්වේශ මෝහ තමයි කැත දේවල්. **අලෝභය ලැබීමටත්, අද්වේශය සමගියටත්, අමෝහය නුවණටත් හේතු වෙනවා.** අද නියම බුදු දහම සීඝ්‍රයෙන් මතු වෙන කාලෙ මේවා දැනගෙන අනුගමනය කරන්න පටන් ගත්ත නම්, අපේ රටටත් පෙර තිබිච්ච සශ්‍රීකත්වය නැවතත් ලබාගෙන සංසාර දුකෙනුත් සදහටම අත් මිදෙන්න අවස්ථාව උදා වෙනවා.

දැන් නැවතත් ගස් වැල්වලට පොහොර, එහෙම නැත්නම් පෘථිවි සාරය උරා ගන්න හැටි බලමු. අද අපි මූලික වශයෙන් නයිට්‍රජන්, පොස්පරස්, පොටෑසියම්... ආදී වශයෙන් පොහොර හැඳින් වුවාට ඒවායින් එක් එක් බෝග යට ඇදල ගන්න කොටසක් තියෙනවා. ඒ කියන්නෙ අපි දාන පොහොරවලින් සහ පෘථිවි සාරයෙන් ඒවාට ඇදල නොගන්න කොටසකුත් තියෙනවා. දැන් මේ ඇදල නොගන්න කොටස නිදහසේ ඉතුරු වෙනවා. ඒ නිසා එකම බෝගය වගා කරන කොට ඒ බෝගයේ සශ්‍රීකත්වයට අවශ්‍ය සාරය පොළොවෙන් ඇදල අරගෙන ඒවා හිඟ වෙනවා. එතකොට ඒ බෝගය තව දුරටත් වගා කළොත් හොඳ ප්‍රතිඵල ගන්න බැරි වෙනවා. දැන් වෙන බෝග යක් වගා කළොත් ඒකෙන් හොඳ ප්‍රතිඵලයක් ගන්න පුළුවන් වෙනවා. මොකද පොළොවෙන් ඇදල ගන්නෙ ඒකට ආවේණික වෙච්ච සංඝටක විතරයි. තව දුරටත් ඒ අලුත් බෝගය දෙතුන් වතාවක් වගා කළාට පස්සෙ ඒකෙන් හොඳ ප්‍රතිඵලයක් ගන්න බැරිව යනවා. දැන් නැවතත් පැරණි බෝගය වගා කළොත් ඒකෙන් හොඳ ප්‍රතිඵලයක් ගන්න පුළුවන් වෙනවා. මොකද දැන් නැවතත් ඒ අඩු වෙච්ච සංඝටක පොහොරවලින් හෝ පොළොවේ ක්‍රියාකාරීත්වය තුළින් හෝ සකස් වෙලා තියෙන නිසා. දැන් බලන කොට ගස් වැල්වලටත් ගති ආකර්ෂණය බලපානවා. ගති මූලිකව හට ගත්ත ගස් වැල්වලට පොහොරත් ගති මූලිකව සකස් වෙනවා. හැම දේකටම ඊට ආවේණික ආකර්ෂණයක් තියෙනවා. ඒක තමයි ලෝකයේ පවතින රටාව.

මේ ආකර්ෂණය කියන මූල ධර්මය ගොඩක් විග්‍රහ සහිතයි. මුළු ලෝකයම ආකර්ෂණයකට සම්බන්ධයි. මේක සිද්ධ වෙන හේතු ඵල න්‍යායක් තියෙනවා. ඒක බුදු දහම තුළින් මතු කරල ගන්නවා හැරෙන්න වෙන කිසිම තැනකින් මතු කරන්න බෑ. එහෙම මතු වෙන්නෙත් නෑ. අද මතු කරගෙන තියෙන ආකර්ෂණ නියම ලෞකිකයි. සීමා සහිතයි. ඒකෙන් ලෝකයේ සියල්ල විස්තර කරන්න බෑ.

දැන් පොළොව මට්ටමේ තියෙන ද්‍රව්‍ය වස්තු පොළොව මට්ටමේ පිහිටනවා. ඒවා ආකාසයට යන්නෙ නෑ. ආකාස මට්ටමේ තියෙන ඒවා ඒ මට්ටමට ආකර්ෂණය වෙනවා. ඒවා පොළොවට ආකර්ෂණය වෙන්නෙ නෑ. පොළොව නිසා ඒවා එතැන තියෙනවත් නෙවෙයි. ආකර්ෂණ නියමය නිසා පොළොවට හිමි තැන පොළොව තියෙනවා. ආකාසය ආකාසයට හිමි තැන තියෙනවා. ජලය ජලයට හිමි තැන තියෙනවා. ගින්න ගින්නට හිමි තැන තියෙනවා. සත්ත්වයන්ගේ කර්ම විපාක අනුව අදාළ තැනට ආකර්ෂණය වෙලා උප්පත්තියක් ලබනවා. දැන් මේ සියල්ල සංකලනය වෙච්ච තැනක් තියෙනවා. ඒක තමයි මූලස්ථානය. කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං කියන තත්ත්වයට අදාළ පිහිටීම. ඒ තමයි මනුස්සයො ජීවත්වෙන පරිසරය. ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ කියන හේතු හයෙන්ම හැදුනු රූප කලාප සම්මිශ්‍රණයකින් නිර්මාණය වෙච්ච ලෝකයක්. ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන හතරෙන්ම හැදුනු සම්මිශ්‍රණ ලෝක පරිසරයක්.

මනුස්ස ලෝකය තමයි සියලුම වර්ගයේ සංඛාර වඩන පිරිස ඉන්න ලෝකය. ඔවුන් මනුස්ස වෙලා හිටියට එක එක මොහොතෙ විවිධ ගති වඩමින් ඉන්නෙ. මනුස්ස ලෝකය සංඛාර මූලිකයි. දැන් මනුස්සයෙක් බලු වැඩක් කරනව නම්, ඔහු දැන් මනුස්ස වේශයෙන් හිටියට ඒකෙ විපාක හැටියට අනාගතයෙදි බලු ජාතියේ උප්පත්තියක් ලබන්න හේතු සකස් වෙනවා. අපි ඒ වගේ බලු වැඩ කරන කොට මෙහෙම කියනවා. "මේ මිනිහ නම් මහ බල්ලෙක්. අම්මට තාත්තට සළකන්නවත් දන්නෙ නෑ." දැන් මනුස්සව ඉඳෙද්දිම අපි අදාළ තිරිසන් නම පට බැඳල ඉවරයි.

ඒ වගේම දේව සංඛාර වැඩුවොත් මතු අනාගතයෙදි දේව උප්පත්තියක් ලබන්න හේතු සකස් වෙනවා. ඒ පුද්ගලය මනුස්සව ඉඳගෙන දේව සංඛාර වඩන කොට අපි කියනවා, බලන්න අර මනුස්සය නම් මිනිස්ස අතර ඉන්න දෙවි කෙනෙක් කියල. එතකොට අනෙක් ලෝක නිර්මාණය වෙන්නෙ මේ වඩන විවිධ සංඛාරවලට විපාක ගෙවන්න. ඒ ලෝක විපාක මූලිකයි. ඒ ලෝකත් ඉබේ හට ගන්නව නෙවෙයි, හේතු ඵලයක් විදිහට අදාළ ගති වඩපු අයට විපාක විඳින්නයි නිර්මාණය වෙන්නෙ. ඝනීභවනය වෙච්ච මනුස්ස කය (ඝන ශරීරය) තියෙනකල්, වඩන ගති අනුව රුව වෙනස් වෙන්නෙ නෑ. ආනන්තරීය පාප කර්මයක් කළත් ඒ මොහොතෙ රුව පරිවර්තනය වෙලා අපායට යන්නෙ නෑ. ධ්‍යානයක් වැඩුවත් ඒ මොහොතෙම බ්‍රහ්ම ලෝක උප්පත්තියක් ලබන්නෙ නෑ. මේ ඝන කය බිඳුණු දාට තමයි වඩපු ගති අනුව අනුරූප ලෝකයට ආකර්ෂණය වෙලා උප්පත්තියක් ලබන්නෙ. හැබැයි සියුම් කයෙන් ඉන්න දෙවියන්ට එහෙම නෑ. දෙවි කෙනෙක් රූපාවචර ධ්‍යානයක් ලැබුවොත් ඒ මොහොතෙම අදාළ බඹ ලොව උප්පත්තිය ලබනවා.

දැන් උඩට යනකොට තියෙන්නෙ සුගති ලෝක. යටට යනකොට තියෙන්නෙ දුගති ලෝක. දැන් අපි දකින්නෙ නැති පැති ගොඩක් තියෙනවා. පසුගිය කලාපයේ මෝහ ගතිය නිසා හැදුනු තද බවින් යුත් පරිසරයේ ජීවත්



වෙන පණුවො ගැන සඳහන් කළා. පණුවො විතරක් නෙවෙයි තවත් උදාහරණ ගන්න පුළුවන්. අපි අහල තියෙනවා ගල් භූතයො කියල ජාතියක් ඉන්නව කියල. අපි අදටත් ආතක් පාතක් නැතිව කිසිම දෙයක් තේරුම් ගන්න බැරිව මොකක් හරි වැඩකට නැති දෙයක් අල්ලගෙන ඒකෙම ඇලිල ජීවත්වෙන මෝහාධික අයට, ඌ නම් මහා ගල් භූතයෙක් කියල කියන සිරිතක් තියෙනවා. අපි ගල් භූතයො ගැන අහල තිබුනට දැකල නෑ. ඒවා ක්‍රියාත්මක වෙන හැටි දන්නෙත් නෑ. නවීන විද්‍යා උපකරණවලට එහෙම එකක් අහු වෙලත් නෑ. පරීක්ෂණයකට අහු වෙලත් නෑ. නමුත් තැනින් තැන මේ වගේ සිද්ධි අහන්න ලැබෙනවා. ගල් පෙරේතයො කියලත් මිනිස්සු ව්‍යවහාර කරනවා.

කෑගල්ල පැත්තෙ එක ගෙදරක හිටපු ගෘහ මූලිකයා මරණයට පත් වුනා. ඔය ගෙදර ඉස්සරහ දොර හුළඟට එහාට මෙහාට යන එක වළක්වන්න අඩයක් විදිහට රවුම් ගලක් තිබුනා. මියගිය මනුස්සය ඔය ගලට බොහොම ප්‍රියතාවයක් තිබුනා. දැන් මරණෙන් පස්සෙ ගේ අස්පස් කරල, ඔය ගලත් දැන් තියන්න ඕන නෑ කියල අයින් කරල පැත්තකට විසි කරල දැම්මා. දැන් ඊළඟ දවසෙ බලන කොට නැවත වතාවක් ගල දොර ළඟ තියෙනවා. කවුද මේක ආයෙත් ගෙනාවෙ කියල නැවත විසි කරල දැම්මා. දැන් ඊළඟ දවසෙ බලන කොට ගල නැවතත් දොර ළඟ. ගෙදර කට්ටියගෙන් අහල බැලුවම කවුරුවත් ගල ගෙනත් තියලත් නෑ. දැන් ගේන කෙනෙකුත් නෑ. හැබැයි විසි කරන්න විසි කරන්න ගල දොර ළඟට නැවත එනවා. කාටවත් එනව පේන්නෙත් නෑ. මේක මහ පුදුම වැඩක්නෙ කියල ගෙදර කට්ටිය ඔය ගුප්ත විදිහට සාස්තර කියන තැනකට ගියා මේ වෙන්නෙ මොකක්ද කියල දැනගන්න. සාස්තරේට කියවුනා, ගෙදර අයිතිකාරයා ගල් භූතයෙක් වෙලා ගෙදර ඉන්නව කියල. වැඩකට නැති ගලකට ඇලිල කරගත්ත දේක හැටි. ඔන්න ඔය විදිහට ගල්වලට ආකර්ෂණය වෙන මානසිකත්වයන් තියෙනවා. ඒ තමයි මෝහාධික සත්ත්වයන්ගෙ හැටි. දැන් මේ ගල සතෙක් කියල අපිට පේන්නෙ නෑ. සතෙක්ගෙ අඟපසඟ එතන නෑ. නමුත් දැනීම් හැඟිනීම් සහිත මානසිකත්වයක් ඒ ගලට ආකර්ෂණය වෙනවා. ඒ කියන්නෙ ඒ ගලට විඤ්ඤාණයක් සම්බන්ධ වෙලා.

මේ ලිපි පෙළෙන් පෙන්වා දුන්නෙ, සත්ත්වයන් තමන්ගෙ ගතියට අනුව විපාක ගෙවන්න ගති ආකර්ෂණය තුලින් ලෝක නිර්මාණය කරගන්න හැටි. එහෙම නැතුව සත්ත්වයන්ට ඉන්න ලෝක කවුරුවත් මැව්වෙ නෑ. ඔවුන්ගෙ සංඛාර වැඩ පිළිවෙල අනුව, නැත්නම් හේතුවට අනුව තම තමන්ගෙ කර්ම විපාක ගෙවන්න ලෝක නිර්මාණය වුනා. ලෝකය සංඛතයි. පටිච්ච සමුප්පන්නයි. ඒ කියන්නෙ හේතුන් නිසා, හේතුන් අනුව ගැලපිලා අනුරූප විදිහට ලෝකය සකස් වෙලා තියෙනවා. හේතුවට අනුකූලයි ඵලය. **සියලු සත්ත්වයෝ සුචරිතයෙ හිටිය නම් සතර අපාය කියල එකක් හට ගන්න හේතු නෑ. සුචරිතයෙන් හිටපු සත්ත්වයින්ට දුක් විඳින්න තැනක් හට ගන්නව කිව්වොත් හේතුවට අනුකූල ඵලයක් නෙවෙයි එතකොට බිහිවෙන්නෙ. එතකොට අපිට පටිච්ච සමුප්පන්නයි කියල කියන්න බෑ. පටිච්ච සමුප්පන්නයි කියන්නෙ හේතුවට අනුකූල ඵලයක් ලැබෙනවයි කියන එක.** අද සමහරුන්ගෙ නිගමනයක් තියෙනවා, පටිච්ච සමුප්පාදය හට ගන්නෙ හිතේ විතරයි කියල. එහෙම කිව්වොත් ධර්මයට ගලපන්න බෑ, පරස්පර වෙනවා. ලෝකය කිව්වම නාම ධර්ම, රූප ධර්ම කියන සියල්ල අයිතියි. සියලුම රූපත් හට ගන්නෙ පටිච්ච සමුප්පන්නව තමයි.

බුදු රජාණන් වහන්සේ නමැති මහා විද්‍යාඥයා පෙන්වා දුන් ධර්මය තුලින් මේ මුළු ලෝකයම විශ්ලේෂණය කරල කියන්න පුළුවන්. බුදු පියාණන් වහන්සේට ඒක කරන්න පුළුවන් වුනාට ඒක හැමෝටම කරන්න පුළුවන් එකක් නෙවෙයි. ලෝක විෂය ගැන හිතන්න ගියොත් අපි පිස්සන් බවට පත්වෙන්න පුළුවන්. මොකද ලෝක විෂය අචින්ත්‍යයි කියල බුදු පියාණන් වහන්සේම දේශනා කරල තියෙනවා. ශ්‍රාවකයන්ට ගෝචර වෙන්නෙ එක මට්ටමකට විතරයි. වහරක අභයරතනාලංකාර සිවුපිළිසිඹියාපත් ආර්ය උත්තමයන් වහන්සේ විසින් අපට නැවත පෙන්වා දුන්න දහම් දායාදය තුලින් තමයි මේ විග්‍රහය කළේ. මේ ලෝකයේ දේවල් නිවනට කෙලින්ම අදාළ නොවුනත්, මේ විදිහට මේවා ඉදිරිපත් කරන්නෙ, ලෝකයා අද නවීන විද්‍යාවෙ සරණ ගිහින් නොයෙක් දෘෂ්ටිවලට පත්වෙලා අසරණ වෙලා ඉන්න නිසා. එහෙම නැතුව මේවා පස්සෙ ගිහින් තව තවත් ලෝකය ගැන හොයල නිවන ප්‍රමාද කරගන්න එහෙම නෙවෙයි. ඒ නිසා හැකි ඉක්මනින් ධර්මය ශ්‍රවණය කරල අනිච්ච දුක්ඛ අනත්ත අවබෝධ කරගෙන, අනිච්ච දුක්ඛ අනත්ත මෙනෙහි කිරීම තුලින් මාර්ගය වඩල පූර්ණ කරගන්න උත්සාහ කරන්න.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**
**0777 302407**

**අභයරතනාලංකාරය - 70**

# පිරිනිවන් පෑ අභයරතනාලංකාර මහ රහතන් වහන්සේ ගැන තවත් උත්තමයාණන් වහන්සේ නමක් කරන සුවිශේෂීය විවරණයක්...



- වහරක අභයරතනාලංකාර හිමි

මේ දිගු සංසාර ගමනේ සමහර අවස්ථාවල අපිට විවිධ පුද්ගලයන් විවිධ තැන්වලදී විවිධාකාරයෙන් මුණගැහෙන්නෙ අපිටත් හිතාගන්න බැරි විදිහට. කොහොමද මේ මුණ ගැහීම, මේ සිදුවීම මේ විදිහට සිද්ධ වුනේ කියලත් වෙලාවකට හිතෙනවා. අපි නොදන්නව වුනාට ඒක මේ දිගු සංසාර ගමනේ කවදහරි ගොඩනැගිච්ච හේතුවක ඵලයක්. අපිවත් නොදන ධර්මතාවයෙන්ම ඒ මුණගැස්වීම / සිදුවීම සිද්ධ කරනවා. ඒ වගේම තමයි ඒ මුණගැහීම හෝ සිදුවීම නිසා යම් කිසි යහපතක් හෝ අයහපතක් වෙන්නත් පුළුවන්. ඒ මොනව වුනත් ඒ හැම එකක්ම සසර ගනුදෙනුවක්මයි. ඒ ගනුදෙනුව මොන වගේ එකක්ද, කොහොමද සිද්ධ වුනේ, මොකක්ද පටන් ගැන්ම... ආදී වශයෙන් හරියටම එල්ල කරල කියන්න පුළුවන් වෙන්නෙ ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමකට විතරයි. ඊට මෙහා ඉන්න දිව්‍යසිවරුන්ට, අභිඥාලාභීන්ට ආසන්න වශයෙන් ඒ කාරණය කියන්න පුළුවන්. නමුත් දහම් අවබෝධයක් නැති සාමාන්‍ය අය හිතන්නෙ ඒක අහඹු දෙයක් විදිහට. මොකද හේතුව දකින්නෙ නැති නිසා, එහෙම හැකියාවක් නැති නිසා.

මේ කියන්න යන්නෙත් ඒ වගේ සිදුවීමක් ගැන. හැබැයි මේ විස්තරය ලෝකයේ තරඟයට අහුවෙලා ඉන්න, ඒ පසුපස හඹා යන කෙනෙකුට නම් කිසිදු වැදගත්කමක් නැති වෙන්න පුළුවන්. නමුත් මේ අප්‍රමාණ සංසාරයේ භයානකත්වය වටහාගන්න උත්සාහ කරන, මේ දහම හොයන කෙනෙකුට නම් ඒක තවත් වැදගත් කාරණයක් වෙන්න පුළුවන්.

වහරක අභයරතනාලංකාර හිමියන්ගේ සමුගැනීමෙන් පසු උන්වහන්සේ විසින් නැවත මතු කරනු ලැබූ, ඒ වටා ගෙතිච්ච සැඟවුනු දහම් කරුණු හොයාගන්න වෙනදට වඩා දැඩි පරිශ්‍රමයක් දරන්න සිද්ධ වෙලා තියෙනවා. ඒ තොරතුරු විවිධ පැතිකඩවල් ඔස්සේ හොයමින් හිටපු අවස්ථාවක තමයි මට මේ ආරංචිය දැනගන්න ලැබුනෙ. ඒ අනුව පසුගිය දවසක, මේ දහමට ඉතාමත් ලැදි, වැදගත් වෘත්තියක නියැලෙන හිතවත් මහත්මයෙකුගෙන් මට ඇමතුමක් ලැබුනා. වහරක හාමුදුරුවො වගේම මාර පාක්ෂික බලපෑම්වලින් කරදර විඳින තවත් හාමුදුරුවො නමක් ඉන්නවා, උන්වහන්සේටත් ඒ අය කායිකව මානසිකව කරදර හිරිහැර කරනවා, අපි දන් තවත් හාමුදුරුවො කිහිප නමක් එක්ක පිරිත් කිව්වා, වහරක හාමුදුරුවො ඒ වගේ වෙලාවට මොකද කළේ... ආදී වශයෙන් ඔහු මට එක්තරා ප්‍රශ්නාර්ථයක් සහිත විස්තරයක් කියාගෙන ගියා. වහරක හාමුදුරුවන්ට ආව මාර පාක්ෂික බලවේග වගේ නම්, ඒ හාමුදුරුවොත් විශේෂ කෙනෙක් වෙන්න ඇති කියල මට හිතුනා.

උන්වහන්සේ මේ අසනීපයකට බේත් ගන්න ආව ගමන්... මට අද හවසට උන්වහන්සේව නැවතත් අපේ ගෙදරට වඩම්මවන්න පුළුවන්... බලන්න එන්න පුළුවන්ද කියල ඒ මහත්මය ඇහුවම, මමත් මේ වැඩ කටයුතු පැත්තකට දාල කොහොම හරි එන්නම් කියල පොරොන්දු වුනා. හැන්දෑවෙ 6.00 ට විතර මම ඒ ස්ථානයට යනකොටත් ඒ ගෙදර තවත් භික්ෂූන් වහන්සේලා දෙතුන් නමක් සමග ගිහි පින්වතුන් කිහිප දෙනෙකුත් හිටියා. මම ඊට පෙර උන්වහන්සේ දැකල තිබුනෙත් නෑ. විශේෂ කෙනෙක් කියල දැන හඳුනගෙන හිටියෙත් නෑ. කොහොම හරි ඉතිං වහරක හාමුදුරුවන්ට වගේ මාර පාක්ෂිකයන්ගෙන් කරදර එල්ල වෙනවයි කියපු නිසා මමත් උන්වහන්සේගෙන් ඒ සම්බන්ධවම විවිධාකාර ප්‍රශ්න ඇහුවා. උන්වහන්සේ වයසින් ඉතා තරුණ වුනත් මහ තෙරුන් වහන්සේ නමකගේ ස්වරූපයෙන් උත්තර දෙන විලාසයක් තමයි තිබුනෙ. ඒ උත්තර දෙන විලාසය, ඉවසීම, අනතිමානී බව... ආදී කාරණාවලින් මුන්වහන්සේ තවත් විශේෂ උත්තමයෙක් වෙන්න ඇති කියල හිතුනා. උන්වහන්සේ මේ අත්බවයේ වහරක හාමුදුරුවො මුණ ගැහිලත් නෑ, දැකලත් නෑ කිව්වා. නමුත් වහරක හාමුදුරුවො කොයි වගේ කෙනෙක්ද, සසරෙ මොන වගේ ආපු කෙනෙක්ද... ආදී කරුණු ගණනාවක් තමන් වහන්සේගෙ ශක්තියෙන්ම කියන්න ගත්තම, මුන්වහන්සේට යම් කිසි දිව්‍ය, ඍද්ධි ශක්තීන් තියෙන බවත් මට හැඟී ගියා. කොහොම හරි පැය බාගයක් වගේ ටික වෙලාවක් ඉඳල නැවත එන්න හිතාගෙන ගියපු මම, පැය 6 කටත් අධික කාලයක් උන්වහන්සේ සමග සාකච්ඡා කළා.

ඉතිං විශේෂ හාමුදුරුවො නමක් කියල හැඟී ගිය නිසාම, ඒ සති අන්තයේම දවසක පාන්දර 3.00 ට විතර මමත් අර හිතවත් මහත්මයා ඇතුළු දහමට ලැදි අපි කිහිප දෙනෙකුත් උන්වහන්සේ වැඩ වාසය කරන ඉතාමත් දුර බැහැර ප්‍රදේශයක ගල් ලෙන් සහිත ආරණ්‍යකට ළඟා වුනා. පැය 5 කට ආසන්න කාලයක් ඒ ගමන යන්න ගත වුනා. ඉතා රමණීය නිස්කලංක පරිසරයක මනුස්ස වාසයෙන් තරමක් ඈත් වූ පැරණි ගල්ලෙන් සහිත ආරණ්‍යයක තමයි උන්වහන්සේ වැඩ වාසය කළේ. එදා කලබලයට අහගත්තු කරුණු තවත් විස්තරාත්මකව ධර්මානුකූලව නිවී සැනසිල්ලෙ අහගන්න තමයි මට අවශ්‍ය වෙලා තිබුනෙ. ඒ බවත් උන්වහන්සේ දැනගෙන හිටියා.

ඉතිං මේ ගමනට උපකාර කරපු මා හිතවත් පිංවත් සගයන් ඇතුළු සහසම්බන්ධ වූ සියලු දෙනාටත් අනේක වාරයක් පිං දෙමින්, මේ අනන්ත සංසාර ගමනේ තවත් වැදගත් කතා පුවතක මංසලකුණු පිංවත් ඔබ වෙනුවෙන් සටහන් කරගන්න හැකි වුනා. උන්වහන්සේගෙන් මා අසා දැනගත් තවත් වැදගත් කාරණා රාශියක් තිබුනත්, කාලය තවමත් ඉක්මන් වැඩි නිසාත්, සමහරු අපවාද කරගන්න පුළුවන් නිසාත්, උන්වහන්සේගේ නම් ගම් සහ හෙළිදරව් කළ සමහර තොරතුරු මේ ලිපියෙන් සටහන් නොකර, ඒ කාරණා ඉදිරි කලාපයකින් හෙළිදරව් කරන අදහසින්, උන්වහන්සේ විසින් වහරක අභයරතනාලංකාර හිමියන් ගැන කළ සුවිශේෂීය විවරණය ලෝකයාට යහපතක් වේවායි කියල හිතල පින්වත් ඔබ හමුවේ සටහන් කරන්න අවසර...

**ප්‍රශ්නයඃ** ඔබ වහන්සේ වහරක හාමුදුරුවො ගැන දැනගත්තෙ කොහොමද?

**පිළිතුරඃ** වහරක හාමුදුරුවො ගැන මට වචනවලින් අහන්න ලැබුනෙත් පසුගිය ජනවාරියේ. මම මේ දහම දේශනා කරගෙන යනකොට, ඔබ වහන්සේත් වහරක හාමුදුරුවො දේශනා කරන දහම් කරුණු තමයි දේශනා කරන්නෙ කියල එක්තරා මහත්මයෙක් හරහා තමයි මට උන්වහන්සේ ගැන ඉස්සෙල්ලම අහන්න ලැබුනෙ. ඒත් ඉතිං මට ඒ වෙලාවෙ ඒ ගැන හොයන්න එච්චර උනන්දුවක් තිබුනෙ නෑ. හැබැයි ඊට පස්සෙ දවසක මම ඒ මහත්මයගෙන් ඇහුවා උන්වහන්සේව මුණගැහෙන්න පුළුවන්ද කියල. එතකොට කිව්වා, උන්වහන්සේ දැන් අසනීප තත්ත්වයෙන් ඉන්නෙ, උන්වහන්සේ වටේ ඉන්න පිරිස ළඟට යන්න දෙන්නෙ නෑ කියල. ඒත් ඉතිං කොහොම හරි උන්වහන්සේව මුණගැහෙන්න තිබුන නම් සෑහෙන්න වටිනවයි කියල ඊට පස්සෙ හිතුනා.

ඉතිං ඔය අතර තමයි අර මහත්තය මට කිව්වෙ, ඔබ වහන්සේ ඔය කියන බණ උන්වහන්සේත් කියනවා, අනිච්ච දුක්ඛ අනත්ත විදිහට දේශනා කරනවා, ඔබ වහන්සේ අනිච්ච කියන වචනය කියන්නෙ නෑ, කැමැත්ත ඉෂ්ට වෙන්නෙ නෑ කියලයි කියන්නෙ කියල. ඉතිං අනිච්ච, දුක්ඛ, අනත්ත කියන එක වචනවලින් ඒ මහත්තය මට කිව්වා. මොකද ඒ වෙනකොටත් මම අවබෝධයෙන් දහම් දේශනා කළාට ත්‍රිපිටකය බලල ඒ වචන දැනගෙන හිටියෙ නෑ. ඊට පස්සෙ මෙන්න මෙහෙම හඬක් තියෙනව කියල උන්වහන්සේගෙ හඬ පටිගත කරපු තැටියකුත් දාල දුන්නා. ඒ හැරෙන්න මම උන්වහන්සේගෙන් බණ අහල තිබුනෙ නෑ. හැබැයි ඒ වෙනකොටත් මම මේ දහම මූලික අවබෝධයෙන් ජීවිත කාලයක් තිස්සේ කියාගෙන ඇවිත් තිබුනෙ. පස්සෙ ඒ තැටියෙන් අර අනිච්ච කියන වචනය අහනකොටත් මට ඒකෙ නුහුරක් දැනුනෙ නෑ. ඒක වැරදියි කියල හැඟුනෙ නෑ. මට හිතුන ඉතිං ඒක තමයි හරි කියල. හැබැයි ඒ වෙද්දිත් අනිත්‍යයි කියන එක ගැලපෙන්නෙ නෑ කියල මට හැඟිල තිබුනෙ. ඒ කියන්නෙ මේ ස්ථිර නෑ කියන කතාව ගැලපෙන්නෙ නෑ, අපි ඒක දන්න කාලෙ ඉඳන්ම තිබ්බ්ච එකක් කියල මට හැඟුනා. ඉතිං මේ අනිත්‍යයි, ස්ථිර නෑ කියන එක ලෝකෙ කවුද නොදන්නෙ? ඉපදෙන එක, ලෙඩ වෙන එක, මැරෙන එක මේ තිරිසන් සත්තුත් දන්නවනෙ! ඒක නෙවෙයිනෙ බුදුන් වහන්සේගෙ දේශනාව.

ඉතිං ඔය වගේ නිගමනවල ඉඳගෙන මම දහම් දේශනා කරන අතරෙ, පසුගිය අප්‍රේල් මාසයේ විතර ධර්ම මනසිකාරයෙන් ඉන්න මොහොතක මට එක්තරා දෙයක් දැනෙන්න පටන් ගත්තා. එක පාරටම විසාල ආලෝකයක් ඇවිත් මගේ ඇඟ සම්පූර්ණයෙන්ම හිරි වැටෙන්න පටන් ගත්තා. මාව අමුතුම විදිහට වෙව්ලන්න පටන් ගත්තා. ඒ කියන්නෙ අසනීපයක් නිසා නෙවෙයි, එක්තරා අතීත කාරණා කිහිපයක් දැනගන්න ලැබිල හිතට ආපු ස්වභාවය නිසා. හැබැයි මේ කාරණා ටික මම එදා මේ විදිහට කාත් එක්කවත් කිව්වෙ නෑ. මොකද එහෙම කියන්න සුදුසු අවස්ථාවක් සකස් වෙලා එන්න එපැයි.

ඉතිං මේ අවස්ථාවෙදි වහරක හාමුදුරුවන්ගෙ හඬ ඇත්තටම මට හොඳට සමීප බවක් දැනුනා. ඒ හඬ මට සමාධියට දැනෙන්න පටන් ගත්තා. ඒත් එක්කම මට උන්වහන්සේගෙ රූපය පේන්න පටන් ගත්තා. පස්සෙ උන්වහන්සේගෙ ඇස් දෙකයි මගේ ඇස් දෙකයි, ඇහැට ඇහැ පේන්න ගත්තා. ඊට පස්සෙ ඒ ඇස් දෙකයි මේ ඇස් දෙකයි එකක් වගේ පෙනුනා. ඒ වෙලාවෙ ඇත්තටම මේ මගේ පියතුමානෙ කියන හැඟීමක් එන්න පටන් ගත්තා. ඒ අවස්ථාවෙදි තමයි වහරක හාමුදුරුවො ගැන මුලින්ම මගේ හදවතටම දැනෙන්න පටන් ගත්තෙ. ඊට කලින් අර මහත්තය දීපු තැටියෙන් කටහඬ නම් අහල තිබුනා.

ඉතිං ඒත් එක්කම මට අතීත සිද්ධි ජාලයක් නාම ගෝත්‍ර හරහා මතු වීගෙන ගලාගෙන එන්න පටන් ගත්තා. දීපංකර බුද්ධ සාසනයටත් එහා තොරතුරු මට දැනෙන්න තේරෙන්න පටන් ගත්තා. වහරක හාමුදුරුවො කියන්නෙ මුලදී බුද්ධත්වය ප්‍රාර්ථනා කරගෙන ආපු උත්තමයෙක් කියල මම දැනගත්තා. ඒ ප්‍රාර්ථනාව මුලදී තිබුනත් මගදී නියත විවරණ ලබන්නෙ නෑ. මොකද බුදු බව පතන හැමෝටම ඒ තත්ත්වය ලබන්න බෑ. ඒ ප්‍රාර්ථනාව පසු කාලෙක වෙනස් වෙනවා. දීපංකර බුදුන් වහන්සේටත් පෙර සිටම උන්වහන්සේ බුද්ධත්වය ප්‍රාර්ථනා කරල තියෙනවා. ඒ පුරුද්දට තමයි දීපංකර බුද්ධ කාලයෙත් බුදු බව පතාගෙන ඇවිත් ඒ කාරණය වචනවලින්ම ප්‍රකාශ කළේ. ඒ කියන්නෙ දීපංකර බුදුන් වහන්සේ දැකපු ගමන්ම, උන්වහන්සේ දහම් දේශනා කරන මහා ප්‍රාතිහාර්ය දැකල, අනේ මටත් මෙහෙම ප්‍රාතිහාර්යක් කරන්න ඇත්නම් කියල අදහස ඇවිත් ඒක වචනයෙනුත් ප්‍රකාශ කරනවා. හැබැයි බුද්ධත්වය ලැබුවෙ නැතත් ඒ ශක්තියත් එක්ක අනු බුද්ධ කියල ශ්‍රාවක විවරණයක් තියෙනවා. ඒ කියන්නෙ මේ බුද්ධ සාසනයක් පිරිහිලා යන කාල වකවානුවක නැවත නගා සිටුවන්න උන්වහන්සේ ශක්තියක් අරන් තියෙන බව මට වැටහුනා.

ඉතිං මේ කාරණා මට නාමගෝත්‍ර හරහා අවදි වෙන්න පටන් ගත්තා. උන්වහන්සේ දීපංකර බුද්ධ සාසනයේ ඒ ශ්‍රාවක විවරණය ගන්නකොට මම උන්වහන්සේගෙ පුතෙක් විදිහට ඉඳල තියෙනවා. ඒක මට හොඳට දැනෙන්න පටන් ගත්තා. එදා මම ඇඳගෙන හිටපු ඇඳුම පවා ඒ නාම ගෝත්‍රවලට දර්ශනය වෙනවා. ඒ දර්ශනය අනුව එදා මම උඩු කය නැතිව සරමක් වගේ දෙයක් ඇඳගෙන හිටියෙ. දැන් වුනත් නාම ගෝත්‍ර හරහා ඒ දර්ශන අරමුණු කරන්න පුළුවන්. ඒකෙ වෙනසක් නෑ. එහෙම්ම අරමුණු වෙනවා. ඉතින් උන්වහන්සේ එදා අධිෂ්ඨානයක් ඇති කරගන්නකොට මමත් ඇති කරගත්තු එක්තරා අධිෂ්ඨානයක් තිබුනා. එදා ඒ අධිෂ්ඨානය වචනයෙන් ප්‍රකාශ කරනකොට මමත් ඒ පිටුපසින් ඉඳල ඒක අනුමෝදන් වුනා. යම් කිසි දවසකදී උන්වහන්සේ මේ ධර්මය නැවත නගා සිටුවන්න යනව නම්, ඒකට මහත් වූ ශක්තියක් වෙලා මම

පුතෙක් විදිහට ඒ අවශ්‍ය කටයුතු ටික කරගෙන යනවා කියන අධිෂ්ඨානය තමයි මම එදා ඇති කරගත්තෙ.

ඒත් එක්කම ඒ සසර ගමන ඒ විදිහට ඇවිත් මට අද දැනෙන්නෙ, දැන් ඒ පියතුමා වෙනුවෙන් කරන්න තියෙන එකම දේ තමයි, ඒ ආපු පාරමිතා ශක්තියත් එක්ක මේ විකෘති වෙලා තිබිල නැවත නගා හිටවපු සාසනය ආපස්සට යන්න නොදී රැකගන්න ඕන කියන කාරණය. ඒ ගැන කියන්න මට වචන නෑ. මට එහෙම දැනෙන්න පටන් ගත්තා. ඊට පස්සෙ මුළු ශරීරය පුරාම ඒ ශක්තිය විහිදෙන්න පටන් ගත්තා. ඒත් එක්කම උන්වහන්සේ පිරිනිවන් පෑව කියලත් මම දන්නවා. උන්වහන්සේගෙ ශක්තිය තමයි මට දැනෙන්නෙ. දැන් වුනත් ඒක මතක් වෙනකොට ඇඟේ රෝම කූප කෙලින් වෙනවා. මොකද මට ඒ කාරණය ඒ තරම්ම හොඳට දැනෙන්න පටන් ගත්තා.



ඒත් එක්කම උන්වහන්සේ වැඩ හිටපු වහරක පන්සල ඇසුරු කරපු අයත් මගේ දර්ශන මාත්‍රයට දැනෙන්න පටන් ගත්තා. ඉතිං පුතෙක් විදිහට මට තේරුනා, උන්වහන්සේ එදා මගේ පියතුමා වුනත් අද මට එතනට යන්න තවම හයියක් නෑ කියල. ඒ කියන්නෙ ඒකට සුදුසු කාලය නෙවෙයි. ඒ නිසා මගේ යුතුකම මේ විදිහට ඉෂ්ට සිද්ධ කරගෙන යනවා කියන අධිෂ්ඨානය තමයි මම ගත්තෙ. ඉතිං මම හොඳටම දන්නවා උන්වහන්සේ පිරිනිවුන කියල. ඒක සීයට කෝටියක්ම විස්වාසයි. අල්ප මාත්‍රයකවත් සැකයක් නෑ. මේ ක්‍රියාදාමය මම අතීතයේ ඉඳන් දන්න නිසා, දුක්ක නිසා, මට දැනිච්ච නිසා දැන් එතනින් එහාට කරන්න ඕන කාර්යක් තියෙනවා. උන්වහන්සේ පුද්ගලත්වය දුරු කළා. ඒ දුරු කරපු මග තමයි අපි එතනින් එහාට ගෙනියන්න ඕන. ඒකට හයියක් තමයි වෙන්න ඕන.

උන්වහන්සේ මේ සාසන වැඩ පිළිවෙල අනුගමනය කරන පින්වතුන්ට පොදුවේ අධිෂ්ඨාන කරල ආශිර්වාද කරල තියෙනවා. විවරණ ගන්නකොට ඇතිවෙච්ච ආරම්භක ශක්තිය ඉදිරියටත් ඒ විදිහටම යනවා. මොකද ඒ අධිෂ්ඨානය එන්නෙ බුද්ධ ශක්තියත් එක්ක දීපංකර බුදුන්ගෙ කාලයේ ඉඳල. ඒ ශක්තිය කාටවත් කඩන්න බෑ. ඒක ක්‍රියාත්මක විය යුතුම ධර්මයක්. ඒ සඳහා අවශ්‍ය ශක්තිය ඉදිරියටත් තියෙනවා. නාම ගෝත්‍ර හරහා උන්වහන්සේගෙ සමාධියට එදා ඒ පිය පුතු සම්බන්ධය සහ විවරණ ගත්ත කාලයේ ළඟින් ඉඳගෙන කරපු අධිෂ්ඨානය ආදී සියල්ල අරමුණු වෙලා, දැන් නැවතත් මනුස්ස ලෝකයේ මේ වෙනකොට පහළ වෙලා ඉන්න බවත් දැනගෙන ඉඳල තියෙනවා. දැන් මගේ සමාධියටත් ඒ කාරණය වැටහෙනවා. අතීත හේතුත් ගලපගෙනයි මම මේ කාරණය කියන්නෙ. මොකද උන්වහන්සේ විවරණ ලබනකොට මමත් ඒ පිටුපසින් හිටියා. ඒ නිසා ඒ කාරණය උන්වහන්සේට අනාවරණය නොවී තියෙන්න බෑ. උන්වහන්සේ ඒ කාරණා ඉඟි කරලත් තියෙනවා. ඒත් ඒක දැනෙන විදිහ මට තව කෙනෙකුට කියන්න තේරෙන්නෙ නෑ. ඉතිං මේ කාරණය උන්වහන්සේ දැනගෙන හිටියත් ලෝකයාට ප්‍රසිද්ධියේ කියන්න ඕන කාරණයකුත් නෙවෙයි. මූණට මූණ මුණගැහෙන්න අවශ්‍යතාවයකුත් නෑ. අනික එදා එහෙම කිව්වනම්, මේ ලෝකයේ මාරයාගේ න්‍යායට අහු වුනාට පස්සෙ උන්වහන්සේට තිබුන ගැටළුකාරී පීඩාකාරී තත්ත්ව, මිනිස්සුන්ගෙන් ආපු මඩ ප්‍රහාර සියල්ල මටත් එනවා. එතකොට මේවා කරගෙන යන්න මට හයියක් නෑ. ඒ කාරණය උන්වහන්සේත් හොඳින් දැක්කා. ඒ නිසා කියන්න අවශ්‍යතාවයක් තිබුනෙ නෑ. ඒක අදාළ කාලෙදි අදාළ තැනදි එළි වෙයි. දැන් මේ කාරණා ටික දැනගන්න මේ විදිහට හමුවීමත් හේතු ඵලයක් නැත්නම් සිද්ධ වෙන්නෙ නෑ. ඒක කලින් සකස් වෙලා තිබිච්ච දෙයක්.

**ප්‍රශ්නයඃ** දීපංකර බුදුන් වහන්සේටත් පස්සෙ වහරක හාමුදුරුවො තවත් ශ්‍රාවක විවරණ ගත්ත අවස්ථා ඔබ වහන්සේට අරමුණු වෙනවද ?

**පිළිතුරඃ** සිද්ධාර්ථ කියන බුදුන් වහන්සේගෙ කාලයෙත් ඔය විදිහට සිද්ධියක් වුනා. ඒක පස්සෙ කතා කරමු. හැබැයි මම ඒ ජීවිතයේ පුතා නෙවෙයි. ඒත් අපි එදා හොඳ මිත්‍රයො දෙන්නෙක් විදිහට හිටියෙ. ඒ සියල්ලම මට අරමුණු වුනා. තවත් බුදුවරු ඉදිරියේ උන්වහන්සේ ආශිර්වාද ලබල තියෙනවා. ඒ වගේම ඊට පසුව තිරිසන් වගේ සතර අපාගත වෙච්ච අවස්ථාත් තියෙනවා. මේ සසරෙ යනකොට එහෙම දේවල් සිද්ධ වෙනවා. කොහොමහරි දීපංකර බුදුන් වහන්සේටත් පෙර සිටම අපි අතර සම්බන්ධයක් තිබුනා. ගෞතම බුද්ධ සාසනයට එනකල්ම මගේ සම්බන්ධතාවයක් තිබුනා. **ඇත්තටම මගේ අධිෂ්ඨානයත් එක්ක ගෞතම බුද්ධ සාසනයේ මුගලන් මහ රහතන් වහන්සේත් සමග ලොකු සම්බන්ධයක් තිබිච්ච නිසා, මම ඒ දහම මුගලන් මහ රහතන් වහන්සේගෙන් මුලින් අහල දැන ගත්තත්, අදාළ කාලය වෙනකල් ඉඳල ඒ අවශ්‍ය මොහොතෙදි තමයි එළියට ආවෙ.** හැබැයි වහරක හාමුදුරුවො ජීවමානව ඉඳෙද්දි මට මේ කාරණා සිහි කරන්න ශක්තියක් නැගිල තිබුනෙ නෑ. ඒ කියන්නෙ මේ කියන අතීත සිද්ධි නාම ගෝත්‍ර හරහා අරමුණු වෙලා තිබුනෙ නෑ. නමුත් ඊට පෙර යම් යම් දේවල් දකින්න පුළුවන්කම පොඩි කාලෙ ඉඳන්ම තිබුනා.

**ප්‍රශ්නයඃ** සමහර උදවිය අතර විවිධ අදහස් තියෙනවා, වහරක හාමුදුරුවො මේ භෞතික කය අතහරිනවත් එක්කම පිරිනිවන් පෑවද, නැත්නම් යම් කිසි කාලයක් අන්තරා පරිනිබ්බායී අවස්ථාවෙ ඉඳල පිරිනිවන් ☞

පැවද, එහෙමත් නැත්නම් තවමත් අන්තරා පරිනිබ්බායී අවස්ථාවෙ ඉන්නවද කියල. ඒ ගැන ඔබවහන්සේට දැනෙන්න කොහොමද?

**පිළිතුර:** මට දැනෙන ස්වභාවය තමයි, උන්වහන්සේ අනිවාර්යෙන්ම ඉගි කරල තියෙන්න ඇති අරිහත් උත්තමයෙක්ගෙ පිරිනිවන් පෑමක් වෙන්නෙ මෙන්න මෙබඳු ආකාරයටයි කියල. දැන් මෙතනදි මගෙන් අහපු ප්‍රශ්නයට උත්තර දුන්නොත්, අර ආපු ශක්තියත් එක්ක මට හැඟුනෙ දැනුනෙ ඒකට වැඩි කාලයක් ගියේ නෑ කියල. උන්වහන්සේගෙ අවසාන කාලය ගත්තොත් මට වැටහෙන කාරණයක් තියෙනවා. උන්වහන්සේ මේ මස් ලේ කය අතහරින මොහොතෙදි ඒ නාම ගෝත්‍ර ශක්තියත් එක්ක එතනින් එහාට ගිය සංඥාවක් නෑ, ගිය තැනක් නෑ. උන්වහන්සේ මේ ජීවිතය අවසානයේ පිරිනිවන් පෑව මිසක් ආයෙ තවත් තැනකට ගියේ නෑ. මොකද උන්වහන්සේගෙ පාරමිතා ශක්තියත්, බුද්ධ ශක්තියත් ආශිර්වාදයත් එකතු වෙලා තමයි අරිහත් ඵලය පූර්ණ කරල පිරිනිවන් පෑවෙ. එතකොට අපි හොඳට තේරුම් ගන්න ඕන, ඒක ඒ විදිහට සිද්ධ වෙච්ච ධර්මතාවයක් කියල. ඇත්තටම උන්වහන්සේ පිරිනිවුන මිසක් ආයෙ කොහේවත් හිර වෙලා තැනක් අල්ලගෙන නෑ.

ඉතිං සමහරු අනාර්ය සමාධිවලින් මේ සිද්ධිය විවිධාකාරයෙන් දැකලත් ඇති. උන්වහන්සේ පිරිනිවන් පෑව කියල නොපෙනුනත්, අර වගේ දේවල් පේන්න පුළුවන්. ඒ කියන්නෙ ඒ අයට මේ සිද්ධිය තේරුම් ගන්න බෑ. මොකද මාරයා ඒ අයව හොල්මන් කෙරෙව්වා. ඒක මට වැටහෙනවා. ඒ අය ඇත්තටම දැක්කෙ මාරයාගෙ දර්ශන. ඔන්න උඹලගෙ එක්කෙනා මෙහෙම වුනා, කෝ වැඩේ කරගත්තෙ නෑ, තවම ඉන්නවා... ආදී වශයෙන් ඒ විදිහට තමයි මාරයා ඒ දර්ශන පෙන්වන්නෙ. ඉතිං ඒ සියල්ල පෘතජ්ජන කතා. හැබැයි ඊට අමතරව **උන්වහන්සේගෙ අධිෂ්ඨාන ශක්තියත් එක්ක කෙනෙකුට යම් කිසි සමාධියක් තුලින් උන්වහන්සේව අරමුණු වෙලා පේන්න පුළුවන්. ඒක වෙනම කාරණයක්. මොකද බුදුන් වහන්සේ පිරිනිවන් පෑවත් උන්වහන්සේගෙ රුව පවා සමාධියට නැගෙන අවස්ථා තියෙනවා. ඒ වගේ අවස්ථා දැන් වුනත් වෙන්න පුළුවන්. නමුත් එතනදි උන්වහන්සේව ජීවිත පැවැත්මක ඉඳගෙන පේනව නෙවෙයි.** උන්වහන්සේ පිරිනිවන් පෑවයි කියල මම දැකලමයි දැනගෙනමයි කියන්නෙ. අනුමානෙට කතා කරන එකක් නෙවෙයි. දැන් උන්වහන්සේ මේ තුන් ලෝකෙ කිසිම තැනක නෑ. ඒක මට සමාධියට අරමුණු වෙනවා. මොකද ඔය අරූපී තල කියන ඒවා පවා පුංචි කාලෙ ඉඳන්ම අරමුණු කරන්න මට පුළුවන්කම තිබුනා.

**ප්‍රශ්නය:** උන්වහන්සේ පිරිනිවන් පෑවත්, ශාරීරික කොටස් ධාතූන් වහන්සේලා වශයෙන් විශේෂයෙන් පරිවර්තනය වුනේ මාස 3 කට විතර පස්සෙ. ආදාහනයෙන් පසු සුළු කොටසක් විතරයි පරිවර්තනය වෙලා තිබුනෙ. මීට අවුරුදු කිහිපයකට පෙර බුරුම රටේ වැඩ වාසය කරපු ගෞරවනීය භික්ෂූන් වහන්සේලා කිහිප නමකගෙත් ආදාහනයෙන් මාස කිහිපයකට පසු ඒ වගේ ධාතූන් වහන්සේලා විශේෂයෙන් පරිවර්තනය වෙලා තිබුන කියල පොත්පත්වල පින්තූරත් එක්කම පළ වෙලා තිබුනා. ඒකට හේතුව විදිහට ඔබවහන්සේ දකින්නෙ මොකක්ද ?

**පිළිතුර:** ඇත්තටම උන්වහන්සේ කාටවත් විජ්ජා පෙන්වන්න කැමති නෑ. උන්වහන්සේ එහෙම විජ්ජාවක් පෙන්වල යන්න ආපු උත්තමයෙක් නෙවෙයි. ඒකෙන් කියන්නෙ නෑ, ධාතූන් වහන්සේලා පරිවර්තනය වෙන්න අධිෂ්ඨාන කරල ගියපු රහතන් වහන්සේලා විජ්ජා පෙන්නුවයි කියල. උන්වහන්සේලා එහෙම කරන්නෙත් ලෝකයා ගැන අනුකම්පාවෙන්ම තමයි. නමුත් විවිධ උත්තමයන් වහන්සේලා සසරෙ එනකොට ගේන ප්‍රාර්ථනා විවිධාකාරයි. ධාතූන් වහන්සේලාගෙන් ලෝකයාට ආශිර්වාද කරන ප්‍රාර්ථනාවක් වහරක හාමුදුරුවන්ට මූලිකව තිබුනෙ නෑ. මේ නිවන් දකින දහම ලෝක සත්ත්වයා කෙරෙහි අනුකම්පාවෙන් නැවත මතු කරල දෙන එක තමයි උන්වහන්සේගේ මූලික ප්‍රාර්ථනාව වුනේ.

ඒ වගේම මේ ප්‍රශ්නය ගැන මීට පෙරත් දිගින් දිගටම මගෙන් ඇහුව නිසා, මම ඒ ගැන සමාධියෙන් අරමුණු කරගෙන යනකොට එක්තරා රූපකායික බ්‍රහ්මයෙක් මගේ චිත්ත පරිවිතර්කය අල්ලගෙන ඒ ඔස්සේ මට උදව් කරන්න ආවා. ඇවිත් ඒ කාරණය මේ විදිහට පැහැදිලි කළා. උන්වහන්සේ මස් ලේ කය බිඳෙනවත් එක්කම තමයි අරිහත් ඵලය පූර්ණ කරල පිරිනිවන් පෑවෙ. එතකොට ධාතු අධිෂ්ඨාන කරන්න වෙලාවක් නෑ. මස් ලේ කයේ ඉඳෙද්දි අරිහත් ඵලය පූර්ණ කරල කාලයක් වැඩ හිටිය නම් තමයි ධාතු අධිෂ්ඨාන කරන්න පුළුවන් වෙන්නෙ. ඒකත් එක හේතුවක්. ඉතිං ඒ රූපකායික බ්‍රහ්මයා ඒ කාරණය පැහැදිලි කරල එතනින් එහාට කතාවට ආවෙ නෑ, යන්න ගියා.

ඒ නිසා මේ සියළු කාරණා ගත්තම, උන්වහන්සේ ධාතූන් වහන්සේලා ගැන අධිෂ්ඨාන කරල තිබුනෙ නෑ. නමුත් සම්‍යක් දෘෂ්ටික දේව මණ්ඩලය විසින් මේ ධාතූන් වහන්සේලා දැවෙන්න නොදී ඉතිරි කළා. ඉතිං උන්වහන්සේගෙ එහෙම අධිෂ්ඨානයක් තිබුනෙ නැති නිසයි ඒ පරිවර්තනය සිද්ධ වෙන්නත් කල් ගියේ. අර දෙවියන්ගෙ සුද්ධ ශක්තියත් එකතු වෙලා තමයි ඒ පරිවර්තනය සිද්ධ වුනේ. මොකද ලෝකයට හිත සුව පිණිස, මේ ධර්මය දෙන්න ඒ පරිවර්තනය පිටිවහලක් වෙනවා. ඉතිං දැන් පිරිනිවන් පාපු උත්තමයෙක් අපිට ඉන්නවා කියන හැඟීම ලෝකයාට දෙන්නත් එපැයි !

අපි එතනදි තේරුම් ගන්න ඕන, උන්වහන්සේ පිරිනිවන් පානකොට ධාතූන් වහන්සේලා ගැන අධිෂ්ඨාන කරල තිබුනෙ නැති නිසා දේව මණ්ඩලයේ සුද්ධ ශක්තියයි උන්වහන්සේගෙ සුද්ධ ශක්තියයි එකතු වෙලා ටික ටික පරිවර්තනය සිද්ධ වුනා කියන කාරණය. සම්‍යක් දෘෂ්ටික දෙවියන්ට එහෙම කරන්න පුළුවන්. ඒක මගඵල ලාභී දෙවියන්ගෙ සත්‍ය ක්‍රියාවක්. මොකද උන්වහන්සේගෙ අවසාන කාලයෙදි මාර පාක්ෂික බලවේග ඇවිත් වද දෙනකොට උන්වහන්සේගෙ රැකවරණයට දේව මණ්ඩලයම හිටියා. ඒ අයගෙ අධිෂ්ඨානයත් එක්ක ඒ දෙවි දේවතාවන් විසින් තමයි දැවෙන්න නොදී ධාතූන් වහන්සේලා ඉතිරි කළේ. එහෙම නැතිව **උන්වහන්සේ ධාතු අධිෂ්ඨාන කරල පිරිනිවන් පෑව නම්, එවෙලෙම ඒ ශරීර කොටස් පළිඟු මැණික් වගේ ධාතූන් වහන්සේලා බවට පරිවර්තනය වෙනවා.** දැන් උන්වහන්සේගෙ ධාතූන් වහන්සේලා අර දේව මණ්ඩලයේ ශක්තිය හරහා තවදුරටත් පරිවර්තනය වෙනවා.

ඒ වගේම ආදාහනයෙදිත් සමහර ධාතු කොටස් දෙවි දේවතාවුන් ගෙනිහින් තියෙනවා. ඒවා ලෝකයට අයිති නිසා එහෙම ගෙනියන්න පුළුවන්. යම් යම් සමාධි මට්ටම්වල ඉන්න අයට ධාතූන් වහන්සේලාගේ මේ ඇත්ත සිද්ධිය නොපෙනුනත්

ඒ කාරණය දැනෙන්න ඇති. සමහර විට ඒ පරිවර්තනය වෙච්ච ධාතුන් වහන්සේලා වෙනත් තැන්වල කාටවත් නොදැනී තැන්පත් කරන්නත් පුළුවන්. අරිහතුන් වහන්සේ නමකගෙ ධාතුන් වහන්සේලා සුදුසු පරිසරයක් තියෙන තැන්වලට දෙවි දේවතාවුන් එහෙම වඩම්මවනවා. මොකද සම්‍යක් දෘෂ්ටික දේව මණ්ඩලයත් එක්ක සම්බන්ධයක් තියෙන කෙනෙක් නම් ඔය සිද්ධිය දැනුම් දීල කරනවා.

**ප්‍රශ්නය:** දෙවියන්ගෙ ශක්තියෙන් ධාතුන් වහන්සේලා පරිවර්තනය කරල එහෙම වඩම්මවනව කිව්වොත්, ඕනම කෙනෙක්ගෙ දේහයක් ඒ විදිහට පරිවර්තනය කරන්න දෙවියන්ට පුළුවන්ද? එදා වැඩ හිටපු දහස් ගණන් රහතන් වහන්සේලා අතරින් ධාතු අධිෂ්ඨාන නොකරපු සියලුම රහතන් වහන්සේලාගේ දේහයන්ටත් දෙවියන් එහෙම කළාද?

**පිළිතුර:** ඒ කාලෙ රහතන් වහන්සේලා දස දහස් ගණනින් වැඩ හිටියා. ධාතුන් වහන්සේලාත් ඕන තරම් වැඩ හිටියා. ඒ නිසා ඒ කාලෙ හිටපු මිනිස්සුන්ට ඒ ගැන සැකයක් කුකුසක් තිබුනෙ නෑ. ඒ හේතුවෙන් ධාතුන් අධිෂ්ඨාන නොකරපු රහතන් වහන්සේලාගෙ දේහයන් එහෙම ධාතුන් වහන්සේලා බවට පරිවර්තනය කරන්න අවශ්‍යතාවයක් තිබුනෙ නෑ. **නමුත් වහරක හාමුදුරුවන්ගෙ පිරිනිවන් පෑම ගත්තොත් ඒක මේ කාලෙ විශේෂ සිද්ධියක්. මොකද දහම යටපත් වෙලා අරිහතුන් වහන්සේලා ගැන අහන්න දැනගන්නවත් නැති කාලයක්. ඒක අති දුර්ලභ කාරණයක්. ඒ නිසා එහෙම විශේෂ අවස්ථාවලදී හැර හැම අවස්ථාවකදීම දෙවියන් විසින් ධාතු ඉතිරි කරල පරිවර්තනය කරන්නෙ නෑ.** ඒ වගේම දැවෙන්න නොදී ධාතු ඉතිරි කරල එහෙම පරිවර්තනය කරන්නෙත් මිනිස්සුන්ගෙ විස්වාසය ඇති කරල දහමට නැඹුරු කිරීමේ පරමාර්ථයෙන් මිසක් වෙන පරමාර්ථයකින් නෙවෙයි.

**ඒ වගේම තමයි ඒ පරිවර්තනයත් දෙවියන්ගෙ ශක්තියෙන් විතරක් කරන්න බෑ. ඒ සඳහා ඒ වගේ විශේෂයෙන් ගුණ පූර්ණ කරපු උත්තමයන් වහන්සේ නමකගෙ, විශේෂයෙන් රහතන් වහන්සේ නමකගෙ දේහයක් තියෙන්නම ඕන. එතකොට ඒ උත්තමයගෙ සුද්ධ ශක්තියයි දෙවියන්ගෙ ශක්තියයි දෙකම එකතු වෙලා තමයි පරිවර්තනය සිද්ධ වෙන්නෙ. එහෙම නැතිව පෘතජ්ජන මනුස්සයෙක්ගෙ දේහයක් ධාතුන් වහන්සේලා බවට පරිවර්තනය කරන්න බෑ.**

ඒ වගේම තමයි යම් කිසි අරිහතුන් වහන්සේ නමක් ධාතු අධිෂ්ඨාන නොකර පිරිනිවන් පෑවම, ඒ ඉතිරිවන ශරීර කොටස් ධාතුන් වහන්සේලා බවට විශේෂයෙන් පරිවර්තනය වුනේ නැතත් ඒවත් ධාතුන් වහන්සේලාම තමයි. ඒ වගේ අවස්ථාවක වුනත් දෙවි දේවතාවන් එකතු වෙලා පරිවර්තනය නොකළත්, යම් කිසි කාලයක් තියෙද්දි පෘතජ්ජන අයගෙ ශරීර කොටස්වලින් වෙන් කරල හඳුන ගන්න පුළුවන් මට්ටමට යම් කිසි ආකාරයකින් පරිවර්තනය වෙනවා. ඉතිං වහරක හාමුදුරුවන්ට නැවත උප්පත්ති පටිලාභයක් නෑ. උන්වහන්සේ පිරිනිවන් පෑවා. එතකොට ඒ දේහය රහතන් වහන්සේ නමකගෙ දේහයක්. ඒ නිසා ධාතුන් වහන්සේලාගේ යම්කිසි පරිවර්තනයන් කාලයත් සමග කොහොමත් සිද්ධ වෙනවා. නමුත් ඒ පරිවර්තනය දෙවි දේවතාවන් එකතු වෙලා වඩා ඉක්මන් කරනවා. මොකද නැත්නම් මිනිස්සු වැරදි දෘෂ්ටිවල ඉඳගෙන පහර ගහල අවැඩ කරගන්න පුළුවන්. ඉතිං තවත් අවුරුදු කිහිපයක් යනකොට ඒ ධාතුන් වහන්සේලා ඔක්කොම පූර්ණව පරිවර්තනය වෙලා තියෙන්න පුළුවන්.

**ප්‍රශ්නය:** උන්වහන්සේගෙ ධාතුන් වහන්සේලා තෝරල වර්ග කරනකොට ආශ්චර්යමත් විදිහට ජිව්හා ධාතුව (දිව) ඉතිරි වෙලා තිබුනා. පසුව ඒක උන්ඩි වෙලා යම් කිසි ආකාරයකට පරිවර්තනය වෙලා තිබුනා. ඒ වගේම ඒ පරිවර්තනය වෙච්ච ජිව්හා ධාතුන් වහන්සේ තැන්පත් කරන්න අඩුවකින් ස්පර්ශ කරනකොට සන්ථාරයක ආකාරයට සියුම් හඬක් රැව් දෙන බවත් දැකගන්න ලැබුනා. ඒ ගැන ඔබ වහන්සේට හැඟෙන්නෙ මොකක්ද?

**පිළිතුර:** ඒක උන්වහන්සේගෙ දේශනා ප්‍රාතිහාර්යත් එක්ක සම්බන්ධ දෙයක්. ඒ ජිව්හා ධාතුව එක්තරා හැඩයකට පරිවර්තනය වෙලා තියෙනවා. එක්තරා සුද්ධ ශක්තියක් ඒකෙන් විහිද වන්න පුළුවන්. ඒ ශක්තිය ඇත්තටම අපට ලැබෙන්න ඕන තැනක් තියෙනවා. ඉස්සරහට ඒක කොහොමද පිහිටුවන්නෙ කියල දැනගන්න පුළුවන් වෙයි. ඒ කියන්නෙ ඒ ධාතුන් වහන්සේ වෙතින් දේශනා ප්‍රාතිහාර්ය සඳහා ශක්තියක් / ආශිර්වාදයක් ලබාගන්න පුළුවන්. ඉතිං දිව වගේ සියුම් දෙයක් නොදැවී ඉතිරි වීමත් අති විශේෂයි. ඒක ධර්මතාවයෙන්ම වෙච්ච දෙයක් මිසක් උන්වහන්සේ අධිෂ්ඨාන කරල කරපු දෙයක් නෙවෙයි.

**ප්‍රශ්නය:** ඔබ වහන්සේ එදා ප්‍රකාශ කළා, උන්වහන්සේට තවත් කාලයක් වැඩ ඉන්න තිබුන කියල. කොහොමද එහෙම කියන්නෙ?

**පිළිතුර:** උන්වහන්සේට ආපු මාර පාක්ෂික බලවේගවල බලපෑම ඉවත් කරන්න, උන්වහන්සේ වටා ආර්ය ශක්තිය තියෙන පිරිසක් ඇවිත් අධිෂ්ඨාන කරනව වෙනුවට වෙනත් දේවල් තමයි සිද්ධ වෙලා තියෙන්නෙ. ඒකත් එක්ක උන්වහන්සේ මේ වෙනකල් භෞතික කයෙන් හිටිය නම් දැන් අරිහත්වයත් පූර්ණයි. එහෙමනම් මට උන්වහන්සේව මුණ ගැහෙනවා. ඒක බොහෝ විට පසුගිය අප්‍රේල් මාසයෙදි සිද්ධ වෙන්න තිබුනා. හැබැයි උන්වහන්සේගෙ කර්ම වේගයයි පාරමිතා ශක්තියයි දෙකම තිබුනා. ඒත් ඒ පාරමිතා ශක්තියට කර්ම වේගය හරස් වුනා. මොකද පාරමිතා ශක්තිය ඇදගෙන යන්න වටපිටාව සකස් වුනේ නෑ. ඒ සඳහා කර්ම වේගයත් බලවත් වුනා. උන්වහන්සේ පුළුවන් තරම් ඒවායින් ඈත් වෙලා නිදහසේ ඉන්න උත්සාහ කළා. ඒත් වටේ හිටපු බලවේග උන්වහන්සේට අයින් වෙන්න දුන්නෙ නෑ. එහෙම නොවුන නම්, උන්වහන්සේට 2024 වෙනකල් වැඩ ඉන්න පරමායුස තිබුනා. ඒ සඳහා උන්වහන්සේගෙ ශක්තියක් තිබුනා. ඉතින් මේ කර්ම ශක්තිය වගේ දෙයක් 100% ක්ම එල්ල කරල අපිට කියන්න බැරි වුනාට ඒ ගැන එක්තරා වැටහීමක් තියෙනවා. ඒ කර්ම ශක්තිය යට කරගෙන පාරමිතා ශක්තිය ඉදිරියට අරගෙන යන්න සුදුසු පරිසරයක් තිබුනෙ නෑ. එහෙම තිබුන නම් පරමායුසත් ඉන්න තිබුනා. එහෙම වුනා නම් ඔය වැරදි විදිහට ධර්මය ප්‍රචාරය වීම් එකක්වත් වෙන්නෙ නෑ. හැබැයි ඉතිං ඒ වෙනුවෙන් අවශ්‍ය මොහොතෙදි යුතුකම ඉටු කරන්න ඕන නිසයි මම මේ හඬ අවදි කළේ.

**ප්‍රශ්නය:** එහෙම හිටිය නම් උන්වහන්සේට සෘද්ධි අභිඥා බලත් ලැබෙනවද?

**පිළිතුර:** සෘද්ධි අභිඥා බලත් ලැබෙනවා. ඒවා කොහොමත් උන්වහන්සේට තිබුනා. ලැබෙන්න දෙයක් නෑ. මොකද ඒ සෘද්ධීන් උන්වහන්සේ මුල් කාලයේම ලබාගෙන තිබුනෙ. මගඵල වගේ ලෝකෝත්තර ☞

ශක්තියක් ලබා ගත්ත උත්තමයන්ගෙ ඒ සෘද්ධි අභිඥා බල පිරිහෙන්නෙ නෑ. උන්වහන්සේගෙ කය දුර්වල වෙලා අසනීප වෙච්ච නිසයි ඒවා නැගෙන්න බැරිව යටපත් වුනේ. හැබැයි ඒ වගේ සෘද්ධි ලබන්න උන්වහන්සේගෙ කිසිම කැමැත්තක් තිබුනෙ නෑ. අවසානයේ උන්වහන්සේ ඒකට අධිෂ්ඨාන කරල තිබුනෙත් නෑ. උන්වහන්සේගෙ ප්‍රාතිහාර්ය තමයි අනුසාසනා ප්‍රාතිහාර්ය. ඒ සඳහා තමයි උන්වහන්සේගෙ අධිෂ්ඨානය සහ පාරමිතා ශක්තිය තිබුනෙ. ඒත් අවසාන කාලයේ අර හේතු සකස් වෙච්ච ආකාරය අපිරිසිදු වෙච්ච නිසා කර්ම වේගය ක්‍රියාත්මක වීමත් වේගවත් වුනා. ඒකට බාහිර පිරිස් පවා එකතු වුනා. උන්වහන්සේ වැඩ හිටිය නම් තවත් ආශ්චර්යමත් දේ වෙන්න තිබුනත්, ඒක නොවෙන්නත් හේතු සකස් වෙලා තිබුනා. එතනදි කර්ම නියමය විතරක් නෙවෙයි, අර වටේ තියෙන අනෙක් කාරණාත් ඒ වගේ මොහොතක බලපානවා. උන්වහන්සේ අවසාන කාලෙ කායිකව වැටිල ඉඳෙද්දි අවසාන මොහොතේදි තමයි අරිහත්වය පූර්ණ කර ගත්තෙ. නමුත් කය ශක්තිමත්ව තිබ්බ කාලෙ අරිහත්වය පූර්ණ කළා නම් අර කිසිම බලපෑමක් කරන්න බෑ.

**ප්‍රශ්නය:** රහතන් වහන්සේ නමක් පිරිනිවන් පෑවම ආදාහන කටයුතු කරන්න ඕන කොහොමද කියල අපිට උන්වහන්සේගෙන් අහන්න බැරි වුනා. උන්වහන්සේගෙ දේහය ආදාහනය කරන්න පෙර මල් ශාලාවෙදි යම් යම් ව්‍යාකූල තත්ත්වයන් ඇති වුනා. රහතන් වහන්සේ නමක් පිරිනිවන් පෑවම ඒ දේහය එම්බාම් නොකළ කියල නරක් වෙනවද, එම්බාම් කළා කියල ඒකෙන් අවැඩක් වෙනවද?

**පිළිතුර:** රහතන් වහන්සේ නමකගෙ දේහය එම්බාම් කළයි නොකළයි කියල ගැටළුවක් නෑ. ගඳ ගස්සවන දේවල් මොනවද ඇතුලෙ තියෙන්නෙ? ඔය රාග, ද්වේශ, මෝහවලින්නෙ ගඳ ගස්සවන්නෙ. අර කුණු ගති සම්පූර්ණයෙන්ම හලල අයින් වුනා නම් ආයෙ කිසිවක් ගඳ ගහන්නෙ නෑ. අනුන් ගඳ ගස්සවන වැඩ පිළිවෙලක් ඇතුලෙ නෑ. ලෝකයට කුණු විහිදවන ස්වභාවයක් උන්වහන්සේ තුල නෑ. එතකොට ඊට අදාලව ශරීරයත් පරිවර්තනය වෙනවා. එහෙම නැතුව කවදාවත් කුණු වෙලා ගඳ ගහන්නෙ නෑ. දේව මණ්ඩලයෙන් කවදාවත් එහෙම වෙන්න ඉඩ තියන්නෙත් නෑ. අනිවාර්යෙන් දේව මණ්ඩලයෙන් ඇවිත් ඒ දේහය සුගන්ධවත් කරනවා. ඉතිං එම්බාම් කළා කියල ඒක කරපු අයට නරකක් වෙන්නෙ නෑ. කළයි නොකළයි කියල ගැටළුවක් නෑ. අර තිබ්බ විදිහට ඒ දේහය පවතිනවා. ඕන නම් ඕජස ගලයි. ඒත් අප්‍රසන්නතාවයට පත්වෙන්නෙ නෑ. ඒක ආශ්චර්යයක්. මොකද කිසිම අරිහතුන් වහන්සේ නමක් මේ ලෝකය ගඳ ගස්සවන වැඩ කරන්නෙ නෑ. ඒ කටයුතු නවත්තල තියෙන්නෙ. ඒ නිසා කාටවත් ඒ දිහා බලල පිළිකුල් කරන ස්වභාවයක් තමන් ඇතුලෙන් හදාගන්න ධර්මතාවයෙන් ඉඩ තියන්නෙ නෑ. ද්වේශයක් ඇවිත් ඒ දිහා බලල පිළිකුල් කරල එහෙම වෙන්න ඉඩ තියන්නෙත් නෑ. අනුන්ට කෙළෙස් හදාගන්න ගඳ ගස්සවන අවස්ථාවක් එන්නෙ නෑ. ඒක ධර්මතාවයක්. දේව මණ්ඩලයත් ඒ දේහය බලාගන්නවා. ඒ අය ඇවිත් සුගන්ධවත් දේ විහිදවනවා. සමහර විට පිච්ච මල් සුවඳක් හරි මොකක් හරි සුවඳක් ඒ වටා පතුරවනවා.

හරි දහම කතා කරන්නෙ කොතැනද, ඒ වටා දේව මණ්ඩලය එකතු වෙනවා. ඒ අයගෙ රැකවරණය නිරන්තරයෙන්ම තියෙනවා. ඉතිං **උන්වහන්සේගෙ දේහය දින 6 - 7 ක් නෙවෙයි, මාසයක් තිබුනත් ඔච්චරයි. ඒ අවශ්‍ය පිරිසට අවසන් ගෞරව දක්වන්න ඒ දේහය ඒ විදිහටම තියෙනවා. දිගටම තිබුනොත් අවසානයේ දේව මණ්ඩලය විසින්ම ඒ සම්පූර්ණ දේහයම ධාතූන් වහන්සේලා බවට පරිවර්තනය කරනවා. ඒ දේහය ආදාහනය නොකර පෙට්ටිය පිටින් ගෙනිහින් නිකං තැන්පත් කරල තිබුනත්, වළක් ඇතුලෙ තැන්පත් කරල තිබුනත්, ඒත් දේව මණ්ඩලය එකතු වෙලා උන්වහන්සේගෙ සුද්ධ ශක්තියත් එක්ක ධාතූන් වහන්සේලා බවට පරිවර්තනය කරල උඩට වඩම්මවනවා. එහෙම දිව්‍යමය ක්‍රම තියෙනවා.**

ඒ වගේම උන්වහන්සේ අවසාන කාලයේ කියපු දේවල් කාටවත් ඇහුනෙ නෑ. මොකද මස් ලේ කය අඩපණ නිසා ඒ කියන දේවල් අනික් අයට තේරුම් ගන්න බෑ. ඉතිං උන්වහන්සේ තමන් වහන්සේගෙ අවසන් කටයුතු මේ මේ විදිහට කෙරෙන්න ඕන කියල කිව්වෙත් නෑ. මොන විදිහට කළත් උන්වහන්සේට ඒක ගැටළුවක් නෑ. ඒ උන්වහන්සේගෙ තිබ්බ නිහතමානී ගුණය නිසා.

උන්වහන්සේ රෝගාතුරව ඉන්න අවසාන කාලයෙදි කය කොච්චර දුර්වල වුනත් එක මොහොතකවත් මනසින් වැටුනෙ නෑ. හැබැයි මේ කරජ කයයි මනෝ කයයි අතර සම්බන්ධය ක්‍රමයෙන් අඩු වෙලා ගියා. අන්තිම කාලෙ උන්වහන්සේට කරජ කායෙන් අහන දේවල් තේරුනේ නෑ. ඒක දැනෙන්නෙ නෑ. එතකොට උන්වහන්සේ ඉන්න සමාධියේ ඉඳගෙන තමයි යමක් කියන්නෙ. ඒක ඊට පස්සෙ මේ ලෝකයාට තේරෙන්නෙ නෑ, වැටහෙන්නෙ නෑ. මොකද ඒ සමාධි මට්ටමේ ඉඳගෙන කියන දේවල් එකක්වත් සාමාන්‍ය ලෝකයාට දැනෙන්නෙ තේරෙන්නෙ නෑ. ඒ නිසා සමහරු වැරදි මට්ටම්වලින් ගලපගන්න පුළුවන්.

•••••••••••••••••••••••

දැන් බලන්න ආර්ය උත්තමයන් වහන්සේලා අතර තරගයක් නෑ කියන කාරණය මේ කතාවෙන් ඔප්පු වෙනවා. එහෙම තරග කරල ලබා ගන්න දේවල් උන්වහන්සේලා අතර නෑ. එක ආර්ය උත්තමයෙකුට තවත් ආර්ය උත්තමයෙක්ගෙ ගුණයක් දැකල ප්‍රකාශ කරන්න පුළුවන්. කිසිම ඉරිසියාවක් මාන්නයක් නෑ. ඒ අනතිමානී ගුණය උන්වහන්සේලා ළඟ තියෙනවා. මීට පෙරත් අන්තරා පරිනිබ්බායී අවස්ථාවට පත් වෙලා පිරිනිවන් පෑ ආර්ය උත්තමයන් වහන්සේ නමක් ගැන වහරක හාමුදුරුවො කරපු ප්‍රකාශයක් මේ සඟරාවෙ පළ කළා. එතනදිත් උන්වහන්සේලා දෙනම පුද්ගලිකව දැන අඳුනගෙන හිටියෙ නෑ. දැකල තිබුනෙත් නෑ. ඒත් ඒ ගුණය දැකල මේ මෙහෙම උත්තමයන් වහන්සේ නමක් කියල උන්වහන්සේ ලෝකයට ප්‍රකාශ කළා. මේ අවස්ථාවෙදිත් මේ කියන උත්තමයා වහරක හාමුදුරුවො දැකලත් නෑ. ඒත් උන්වහන්සේ මහා උත්තමයෙක් බව ප්‍රකාශ කරන්න තරම් අනතිමානී ගුණයක් උන්වහන්සේට තිබුනා.

(මේ සාකච්ඡාව අතරතුරේ උන්වහන්සේ සඳහන් කළ සමහර කාරණා සමහර අයගෙ පශ්චාත්තාපයට හේතු වෙන්න පුළුවන් නිසා සඳහන් කළේ නෑ. මොකද මේ හෙළිදරව් කිරීමේ අරමුණ යම් කිසි වැදගත් දහම් කාරණා කිහිපයක් ඉස්මතු කිරීම මිසක් කෙනෙක් පශ්චාත්තාපයට පත් කිරීම නෙවෙයි.)

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ශ්‍රී සද්ධර්මය කුමක් සඳහාද?

12 වන කොටස



**ශ්‍රාවක :** මම මේ දහම නිවැරදිව දැනගත්ත දවසෙ ඉඳලම උත්සාහ කළේ තවත් පිරිසකට මේ දහම තේරුම් ගන්න සලස්වන්න. නමුත් මට හොඳින්ම වැටහිච්ච කාරණයක් තමයි, ලංකාවෙ ඉන්න වැඩි දෙනෙකුට මේ වගේ දහමක් අවශ්‍ය නැති බව. ලෝක සත්ත්වයන් සියලු දුකින් මුදවන්න පුළුවන් වැදගත් දහමක් තිබිලත් වැඩි දෙනෙකුට ඒක දැනගන්න ඕනකමක් නැත්තෙ ඇයි ?

**දේශක :** ඒකට ගොඩක් හේතු තියෙනවා. ප්‍රධානම හේතුව තමයි, තමන්ට ඊළඟට වෙන්නෙ මොකක්ද කියල පැහැදිලිව පේන්නෙ නැති එක. ඒ කියන්නෙ මේ ලෝකයේ අවුරුදු 60 - 70 ක ජීවිතයක් ගත කළාට පස්සෙ තමන්ට මොකක් වෙයිද කියල පහසුවෙන් දැන ගන්න ක්‍රමයක් නැති වීම.

**ශ්‍රාවක :** මේ දහම නිවැරදිව අවබෝධ කරගත්ත කෙනෙකුට නම් ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් කටයුතු කිරීම නිසා තමන්ව පහත් තත්ත්වයකට වැටෙන බවත්, අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් කටයුතු කළොත් තත්ත්වය උසස් කරගන්න පුළුවන් බවත් දැනගන්න එක අපහසු වෙන්නෙ නෑ.

**දේශක :** ඒක හරි තමයි. නමුත් මේ රටේ අතිබහුතරයක් පිරිස මේ දහම නිවැරදිව අවබෝධ කරගෙන නැති නිසා, තමන් විසින් තමන්ටම කරගන්නා මහා විනාසය දැකගන්න තියෙන අවස්ථාව අහිමි කරගෙන තියෙනවා. කල්‍යාණ මිත්‍රයන් විසින් දිගින් දිගටම දහම ශ්‍රවණය කරන්න එන්න කියල ආරාධනා කළත්, ඒ වටිනා අවස්ථාවෙන් ප්‍රයෝජන ගන්න තරම් වාසනාවක් ඒ අයට නෑ. ඒ අයගෙන් වැඩි පිරිසක් අනෙක් මිනිස්සු කරන වැරදි ගැන කතා කර කර ඉන්නව මිසක්, තමන් අතින් ඒ වගේ වැරදි සිද්ධ වෙන්නෙ ඇයි කියල කල්පනා කරන්නෙ නෑ.

**ශ්‍රාවක :** ඔය තත්ත්වය නිසාම වෙන්න ඇති අර ප්‍රස්තා පිරුළකුත් හැදිල තියෙන්නෙ, තමන්ගෙ ඇහේ තියෙන පොල් පරාලෙ පේන්නෙ නෑ, අනුන්ගෙ ඇහේ තියන පොල් කෙන්ද පේනව කියල.

**දේශක :** ඔව්. ඒ වගේම තමයි කවුරුත් තමන් විසින්ම තමන්ට කරගන්න මහා විනාසය දැක්කෙ නැති වුනාට, අනිත් අයගෙ පොඩි වරදක් වුනත් දකිනවා. හැබැයි දැකල නිකං ඉන්නෙත් නෑ. නොදන්නකමට ඒවා විවේචනය කරන්න ගිහින් තමන්වම තවත් ටිකක් පහත් තත්ත්වයකට වට්ට ගන්නවා. හරියට ගහෙන් වැටුන මිනිහට ගොනා ඇන්න වගේ වැඩක්.

**ශ්‍රාවක :** ඔතනදි හරියටම සිද්ධ වෙන එක කියනව නම්, මුලින්ම තමන් තමන්වම ගහෙන් වට්ට ගන්නවා. ඒ විපාක මදි නිසා තවත් ගොනෙකුටත් කියල අන්නව ගන්නවා.

**දේශක :** ඔව්. ඒ වගේ ක්‍රමවේදයක් තමයි මේ ලෝකෙ ජීවත් වෙන සියළුම පෘතජ්ජනයින් අනුගමනය කරන්නෙ. ඒ වගේ අයට කියන්නෙ අඥානවත් පෘතජ්ජනයින් කියල. ඒකෙ තේරුම, ඒ අය මේ ශ්‍රී සද්ධර්මය නිවැරදිව අහගත්තෙ නැති කණ්ඩායමේ ඉන්නව කියන එක.

**ශ්‍රාවක :** ශ්‍රී ලංකාව ඈත අතීතයේ පටන්ම බෞද්ධ රටක් වෙලත්, නිර්මල බුදු දහම ආරක්ෂිතව පැවතිලත්, අති බහුතරයක් ජනතාව බෞද්ධ වෙලත්, ඒ වගේම මේ බුදු දහමට රාජ්‍ය අනුග්‍රහය ලැබිලත්, මේ රටේ අති බහුතරයකට තවමත් නිවැරදිව දහම තේරුම් ගන්න බැරිවෙලා තියෙන්නෙ ඇයි ?

**දේශක :** කාලයෙන් කාලයට මේ ධර්මයේ නැගී සිටීම් සහ බිඳ වැටීම් සිද්ධ වෙනවා. මීට අවුරුදු 15 කට විතර කලින් ඔබට මතක නම්, මේ බුදු දහම ගැන ගැඹුරින් අවබෝධයෙන් කතා කරන ප්‍රසිද්ධ දේශකයන් වහන්සේලා හිටියෙ නෑ. ඒ විදිහට ප්‍රසිද්ධියට පත් වෙච්ච ගිහි දේශකතුමන්ල හෝ පැවිදි දේශක උතුමන් ගැන ඔබ අහල තියෙනවද ?

**ශ්‍රාවක :** මගේ මතකයේ හැටියට ඔය කාලය අතරතුරත් යම් යම් කාරණා නිසා ප්‍රසිද්ධියට පත්වෙච්ච දේශකයන් වහන්සේලා වැඩ සිටියා.

**දේශක :** ඔව්. විවිධ පුද පූජා පවත්වන ක්‍රමවේද නිසා, එහෙමත් නැත්නම් කාලීන ධර්ම දේශනා නිසා ප්‍රසිද්ධියට පත්වෙච්ච ධර්ම

දේශකයන් වහන්සේලා වැඩ හිටිය තමයි. නමුත් මම මෙතනදි අදහස් කළේ සෝවාන්, සකෘදාගාමී... ආදී උතුම් මග ඵල පිළිබඳව කතා කරන, ඒ මග ඵල ලබා ගැනීම අරමුණ කරගත් දේශනා කරන දේශකයාණන් වහන්සේලා ගැන.

**ශ්‍රාවක :** ඔව්. ඒ වගේ දේශකයන් වහන්සේලා ගැන නම් මමත් අහල නෑ. නමුත් අදටත් ප්‍රසිද්ධ දේශකයන් වහන්සේලා වැඩ වාසය කරනවා. උන්වහන්සේලා මේ සමාජයේ වැරදි තැන් පෙන්වල දීල මේ ලෝකයේ හොඳින් ගත කරන ක්‍රමවේදයක් කියල දෙනවා. ඒ වගේ දේශනාවලින් මේ රටේ මිනිස්සුන්ට යහපතක් වෙන්නෙ නැද්ද ?

**දේශක :** අනිවාර්යෙන්ම යහපත් දෙයක් සිද්ධ වෙනවා. ඒ වගේ දේශනා ඇහුවට පස්සෙ වැරදි අත්හැරල යහමගට යන්න උත්සාහ දරන මිනිස්සුත් ඉන්නවා. නමුත් බුදු රජාණන් වහන්සේගෙ දේශනාව අනුව නම් සිද්ධ විය යුත්තෙ මේ ලෝක පැවැත්ම අනිච්ච, දුක්ඛ, අනත්ත බව අවබෝධ කරගත්ත, මේ පැවැත්මෙන් මිදීමට උත්සාහ දරන පිරිසක් බිහි කිරීම.

**ශ්‍රාවක :** එහෙම දේශනාවක් කළත් ඉතා සුළු පිරිසකටනේ ඒක තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ. අති බහුතරයක් ඉතුරු පිරිසට මොකද වෙන්නෙ ?

**දේශක :** ඒ ඉතුරු පිරිසට තේරුම් ගන්න වැඩි වාර ගණනක් දේශනා කරන්න සිද්ධ වෙනවා. ඒ විදිහට වැඩි වාර ගණනක් ශ්‍රවණය කරලත් අවබෝධ නොවන අයට ඉදිරියේදී අවබෝධ කර ගන්න සුදුසු පරිසරය සකස් වේවි. කොයි හැටි වෙතත් සියළු දෙනාටම ලෝකයේ සත්‍යය පෙන්වල දෙන එක නේද සිද්ධ කළ යුත්තෙ? ඒ පිරිසට තේරුම් ගන්න අපහසු නිසා මේ ලෝකයේ හොඳින් ඉන්න පුළුවන් කියල බොරු මුළාවක පටලවල තියෙන එක හොඳ වැඩක්ද ?

**ශ්‍රාවක :** මේ ධර්මය වැටහෙන්නෙ නැති පිරිස බේරගන්න, ඒ අයව යහ මගට ගන්න පුළුවන් ධර්ම දේශනා කිරීම වැදගත් දෙයක් වුනත්, ඒක විතරක්ම කර කර හිටියොත් මේ ශ්‍රී සද්ධර්මයේ නියම ප්‍රයෝජනයක් ලබා ගන්න අවස්ථාවක් නැති වෙනව කියල නේද ඔය පෙන්වල දෙන්න හදන්නෙ ?

**දේශක :** ඔව්. ඒ ධර්මයෙ වටිනාකම හැමෝටම පෙන්වල දෙන්න තමයි අපි නිතරම උත්සාහ කරන්නෙ. මුළු ලෝකයම මීට පෙර තිබ්බ්ච නැති ආකාරවලින් රූප, ශබ්ද, ගන්ධ... ආදිය පසුපස්සෙ ආස්වාදයන් හොයමින් ඉතා වේගයෙන් හඹා යන අවස්ථාවක තමයි අද අපි ජීවත් වෙන්නෙ. මේ සඳහා නවීන තාක්ෂණයෙන් ඉතා ප්‍රබලව උදව් උපකාර ලැබෙනවා. සාක්කුවේ දාගෙන ඉන්න ජංගම දුරකතනයෙන් අද මොනවද කරන්න බැරි ? මේ වගේ අවස්ථාවක විනාඩි 30 - 40 ක් බණ කියල මනුස්සයෙක් මුදව ගන්න එක කරන්න පුළුවන් වෙයි කියලද හිතන්නෙ ?

**ශ්‍රාවක :** කොහෙත්ම ඒක නම් කරන්න පුළුවන් වෙන වැඩක් නෙවෙයි. බණ අහනව කියන්නෙ මොකක්ද කියල තේරුම් ගත්තෙත් මම මේ සාකච්ඡාවලට සම්බන්ධ වුනාට පස්සෙ. මම මුලින්ම පුදුම වුනා, උදේ ඉඳල හැන්දෑ වෙනකල් මෙහෙම සාකච්ඡාවක් කරන එක ගැන. විනාඩි 30 - 40 ක බණක්වත් එක දිගට අහගෙන ඉන්න බැරි මම, උදේ 9.00 ඉඳන් හැන්දෑවෙ 5.00 වෙනකල් බණ අහන්නෙ කොහොමද කියල හිතුනා. හැබැයි මම මෙතනට ඇවිත් පැයක් යන්නත් කලින් මට තේරුණා, මම අනිවාර්යෙන්ම දැනගත යුතු යමක් මේ ධර්මයේ තියෙන බව. එදා නම් ටිකක් අමාරුවෙන් තමයි හිටියෙ. නමුත් මම දැන් දන්නවා, මේ ධර්මය ශ්‍රවණය කරන්න මම යොදපු කාලය මගේ ජීවිතේ වටිනාම කාලය බව. හැබැයි මට ප්‍රශ්නයක් තියෙනවා. දැන් රූපවාහිනී සහ ගුවන් විදුලි නාලිකාවලින් පැය 24 පුරාම බණ අහන්න අවස්ථාවක් උදා කරල දීලත් මිනිස්සුන්ගෙ පරිවර්තනයක් නම් පේන්න නෑ.

**දේශක :** එහෙම බණ කිව්ව කියල ඒවා කවුරුත් අහන්න යන්නෙ නැහැ. සමහරු බණ ඇහෙන්න දාගෙන වෙනත් වැඩක් කර කර ඉන්නවා. ඒ අය බණ ඇහෙන එක පිනක් කියල හිතාගෙන ඉන්නවා. ඉතා සුළු පිරිසක් උනන්දුවෙන් අහනවත් ඇති. නමුත් මේ ධර්මය අවබෝධ කරගන්න පුළුවන් එකම එක ක්‍රමයයි තියෙන්නෙ. ඒ තමයි කල්‍යාණ මිත්‍රයෙක් හොයාගෙන මේ ධර්මය පිළිබඳව සාකච්ඡාවක් කරන එක. එතකොට අපැහැදිලි තැනක්, තේරුම් ගන්න බැරි තැනක් තියෙනව නම්, ඒ මොහොතෙම ප්‍රශ්න අහල පිළිතුරු ලබාගෙන, ඉතා නිරවුල්ව සහ ශක්තිමත් විදිහට නැවත වෙනස් කරන්න බැරි ආකාරයෙන් පුළුල් අවබෝධයක් ලබාගන්න පුළුවන් වෙනවා.

**ශ්‍රාවක :** හොඳයි. ඔය ක්‍රමයට ධර්මය අහල අවබෝධ කරගන්න පුළුවන් පිරිසක් මේ රටේ ඉන්නවද ?

**දේශක :** ඕන තරම් ඉන්නවා. අඩුම තරමින් හැම සිය දෙනෙකුටම 25 දෙනෙක්වත් ඉන්නවා. දැනටමත් අපි සංවිධානය කරන ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙන අය අතරින් බොහෝ පිරිසක් ධර්මය අවබෝධ කරගන්නවා. හැබැයි වාර කිහිපයක්ම ඇහුවට පස්සෙ. ඒ අය සාකච්ඡා අවසානයේ අපිත් එක්ක කරන කතාබස්වලින් පැහැදිලි වෙනවා, මීට පෙර අහල නැති ධර්මයක් අහන්න ලැබිල තියෙන බව.

**ශ්‍රාවක :** ඔව්. බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ මින් පෙර නොඇසූ ධර්මයක්නෙ. එකම ධර්ම සාකච්ඡාවක් වුනත් නැවත නැවත අහනකොට මුලින්ම වැටහිච්ච නැති යම් යම් කරුණු වැටහෙන්න පටන් ගන්නවා. මේ වගේ ධර්ම සාකච්ඡාවකට දෙවෙනි වර, තුන්වෙනි වර සම්බන්ධ වෙලා අහනකොට මුලින්ම වැටහිච්ච නැති දහම් කරුණු වැටහෙන්නෙ මොන ක්‍රමවේදයක් නිසාද ?

**දේශක :** ඒක තමයි මුල යහපත්, මැද යහපත්, අග යහපත් ශ්‍රී සද්ධර්මයේ ස්වභාවය. හැම බුද්ධි මට්ටමකම ඉන්න අයට තේරුම් ගන්න පුළුවන් වෙන්න සරලව බෙදල විග්‍රහ කරල විවිධ ආකාරයෙන් දේශනා කරල තියෙන නිසා තමයි, මුලින්ම වැටහෙන්නෙ නැති වුනත් පස්සෙ හරි වැටහෙන්න පටන් ගන්නෙ.

**ශ්‍රාවක :** අපි අපේ සාකච්ඡාවලට සම්බන්ධ වෙන සියලු දෙනාටම කියන්න ඕන, තමන්ට හොඳින්ම වැටහෙනකල් දිගින් දිගටම මේ සාකච්ඡාවලට සහභාගි වෙන්න කියල.

**දේශක :** හැබැයි මේ ධර්ම රසය දැනිච්ච අය නම් මේ සාකච්ඡාවලට නිතර නිතර එනවා. ඒකත් හරිම වැදගත්. මොකද බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා, කල්‍යාණ මිත්‍ර සේවනයත්, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණයත් අරිහත් ඵලය පූර්ණ කරගන්න කල් උපකාරී වෙන බව.

**ශ්‍රාවක :** මේ වගේ ධර්මයක් ☞

තවමත් අහන්න ලැබුනෙ නැති පිරිසට ශ්‍රවණය කරන්න අවස්ථාව උදා කරල දෙන එක මේ තරම් දුෂ්කර කාර්යක් වෙලා තියෙන්නෙ ඇයි ?

**දේශක :** බොහෝ පිරිසක් දැනටමත් තමන් නිවැරදි ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරනව කියල තමයි හිතාගෙන ඉන්නෙ. තම තමන් පොත්පත්වලින් කියවල දැනගෙන ඉන්න ටිකත්, ධර්ම දේශනාවලින් අහන්න ලැබෙන ටිකත් බුදු දහම කියල තමයි ඒ අය වටහාගෙන ඉන්නෙ.



**ශ්‍රාවක :** ඒක නම් ඇත්ත තමයි. මමත් මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙන්න කලින් හිතාගෙන හිටියෙ එහෙම තමයි. ඒ වෙලාව වෙනකොට මම කර කර හිටපු දන්සැල් සංවිධානය කිරීම්, වෙසක් බැති ගී වැඩසටහන්, ලේ දන් දීම්, පොහෝ දින සිල් සමාදන් වෙන අයට අවශ්‍ය උපස්ථාන කිරීම්, කඨින පිංකම්.... ආදී කටයුතුවලට ක්‍රියාකාරීව සම්බන්ධ වෙලා කටයුතු කිරීමට වඩා එහා ගිය ධර්මයේ ගැඹුරක් දැනගෙන හිටියෙ නෑ. නමුත් මට දැන් හොඳට වැටහිලා තියෙනවා, ඒ සියලු දේවල් ඉතා හොඳ දේවල් වුනත් ඊට වඩා ගැඹුරින් මේ ජීවිතයේ යථා ස්වභාවය බුදු රජාණන් වහන්සේගෙ දේශනාවලින් විග්‍රහ කරල තියෙන නිසා, ලෝක සත්‍යය නොදැන කරන අනෙකුත් පිංකම් කිරීමෙන් පමණක් ඒ බලාපොරොත්තු වෙන අග්‍ර ඵලය නොලැබෙන බව.

මේ ආකාරයට දැන් මට වැටහිලා තියෙන කරුණු කාරණා ඒ කාලයේ පිංකම් සංවිධානය කර කර ඉන්නකොට වැටහුනේ නැත්තෙ ඇයි ?

**දේශක :** ඔය වගේ අදහසක් ධර්මය වටහගත්ත හැමෝටම වගේ තියෙනවා. අපි ඔය සම්බන්ධයෙන් මීට කලිනුත් කතා කරල තියෙනවා. නමුත් මං කෙටි උත්තරයක් දෙන්නම්. ද්විතීය වස්සකාර සූත්‍රයේ සඳහන් වෙනවා, අසත් පුරුෂයෙකුට අසත් පුරුෂයෙක් හඳුන ගන්න බැරි බව. ඒ විතරක් නෙවෙයි, ඒ වගේ දෙයක් සිද්ධ වෙන්න කිසිසේත්ම ඉඩක් නැති බවත් කියවෙනවා.

**ශ්‍රාවක :** මෙතනදි අසත්පුරුෂයා කියල කිව්වෙ සත් පුරුෂයෙක් නොවන කියන අදහසින් නේද? ඒ කියන්නෙ මේ ධර්මය අනෙක් අයට වැටහෙන්න කියල දෙන්න තරම් වැටහීමක්, තමන්ටම නැති කෙනෙක් ගැන නේද ?

**දේශක :** ඔව්, ඒ කියන්නෙ විවිධ පොත්පත්වලින් සහ විවිධ සූත්‍ර දේශනා ඇසුරෙන් ධර්මය ඉතා හොඳින් කට පාඩමින් නිවැරදිව දැනගෙන හිටියත්, මේ ලෝකයේ වෙසෙන කිසිම පෘතජ්ජනයෙක් මීට පෙර අහල නැති චතුරාර්ය සත්‍යයත්, පටිච්ච සමුප්පාද න්‍යායත් සත් පුරුෂයෙක්ගෙන් අහල දැනගත්තෙ නැති අයෙක් ගැන.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ ඒ වගේ දේශනා කරන අය තවමත් අශෘතවත් පෘතජ්ජනයින් බව. මේ ආකාරයට ධර්මය දේශනා කරන අයත් අශෘතවත් පෘතජ්ජනයින් නම්, ධර්මය ශ්‍රවණය කරන කෙනත් අශෘතවත් පෘතජ්ජනයෙක් නම්, ඒ වගේ දේශනාවක් කරන අයටත්, ඒ වගේ දේශනාවක් අහන අයටත් කිසිම වැඩක් වෙන්නෙ නෑ කියල නේද ඔය කියන්න හදන්නෙ ?

**දේශක :** නෑ නෑ. කොහෙත්ම නෑ. එහෙම හිතන්න එපා. මාර්ග ඵල අවබෝධයක් කරගන්න බැරි වුනාට, ඒ වගේ දේශනාවලින් ලෞකික සම්මා දිට්ඨියට පත් වෙන්න පුළුවන්. ඒ කියන්නෙ මේ ලෝකයේ යහපත් ආකාරයෙන් කටයුතු කරන හැටි දැනගන්න පුළුවන්. සියළු දෙනාටම මාර්ග ඵල ලබා ගන්න බැරි බව අපි හොඳින්ම දන්න නිසා, ඒ ආකාරයෙන් ලෝකයේ යහපතට කරන සියලු දේශනා සම්බන්ධයෙන් අඩු තක්සේරුවකට එන්න එපා. මෙතනදි මතක් කරල දෙන්න ඕන තවත් ඔබ නොදන්න කාරණයක් තියෙනවා. මූලික දහම් අවබෝධය ලබාගෙන තියෙන කෙනෙකුට මේ ආකාරයේ දේශනා ශ්‍රවණය කරලත් මේ මාර්ගයේ තව ඉදිරියට යන්න පුළුවන් බව ධර්මයේ සඳහන් වෙනවා.

**ශ්‍රාවක :** ඔව්. ඒ ගැන මමත් කතාවක් අහල තියෙනවා. කාන්තාවක් ගායනා කරපු නෙළුම් කවි ශ්‍රවණය කරල එක්තරා කාලයක ස්වාමීන් වහන්සේලා පිරිසක් අරිහත් ඵලය පූර්ණ කරගෙන තියෙනවා.

**දේශක :** අපි කතා කරපු කරුණු කාරණා හොඳින් සැළකිල්ලට ගත්තොත් දැන් ඔබට වැටහෙන්න ඕන, මේ රට පුරා සිද්ධ කරන සියලුම ආකාරයේ ධර්ම දේශනාවල තියෙන වැදගත්කම.

**ශ්‍රාවක :** මේ ආකාරයට සියලු ධර්ම දේශනාවල තියෙන වැදගත්කම පෙන්වල දුන්නත්, සමහර දේශකයන් වහන්සේලා නම් අපේ ධර්ම සාකච්ඡාවලට නොයෙකුත් අවලාද නගනවා මම අහල තියෙනවා. මිත්‍යා දෘෂ්ටික ධර්ම දේශනා කියලත් තියෙනවා. අපි කරගෙන යන සාකච්ඡා නවත්වන්නත් සමහර අය කටයුතු කරනවා.

**දේශක :** ඔව්. එහෙම තත්ත්වයක් නම් සෑහෙන කාලයක ඉඳන් තියෙනවා. නමුත් මේ දහම නියම ආකාරයෙන් වටහාගෙන ඉන්න අය හැටියට, ශ්‍රී සද්ධර්මයට එරෙහිව කටයුතු කිරීමෙන් සිද්ධ වෙන පාපයේ බරපතලකම අපි හොඳින්ම දන්නවා. ඒ විතරක් නෙවෙයි, ද්විතීය වස්සකාර සූත්‍රයේ සඳහන් වෙන ආකාරයට, තමන් දහම නොදැන ඉන්න තාක් කල්, දහම දන්න වෙනත් අයෙක් හඳුනා ගැනීම කිසිසේත්ම සිද්ධ වෙන්නෙ නැති බව අපි දන්නවා. ඒ නිසා තවමත් පෘතජ්ජනයින් විදිහට ඉන්න ඒ දේශකයන් වහන්සේලා යම් දවසක කල්‍යාණ මිත්‍රයෙක්ගෙන් ධර්මය අහල දැනගෙන කවදාහරි මග ඵල ලබා ගන්න කල් ඔය ආකාරයට අවලාද නගයි,

සාකච්ඡා නවත්වන්නත් කටයුතු කරයි, අපිට මිත්‍යා දෘෂ්ටිකයින් කියලත් කියයි.

**ශ්‍රාවක :** මට පේන විදිහට මේ ප්‍රශ්නයට විසඳුමක් නැති වුනත්, අපි මිත්‍යා දෘෂ්ටිකයින් නොවන බව නම් මට හොඳටම විස්වාසයි. මොන හේතුවක් නිසා අපිට මිත්‍යා දෘෂ්ටිකයින් කියනවද කියල මම දන්නෙ නෑ.

**දේශක :** මම නම් දන්නවා, ඔය මිත්‍යා දෘෂ්ටික කියන වචනයේ නිවැරදි තේරුම මේ රටේ අතිබහුතරයක් දෙනා දන්නෙ නෑ. ඒ සඳහා මිත්‍යා දෘෂ්ටික පහාන සූත්‍රය කියවන්න ඕන. එතකොට දැනගන්න පුළුවන්, බුදු රජාණන් වහන්සේ මිත්‍යා දෘෂ්ටිය විදිහට දේශනා කරල තියෙන්නෙ මොනවද කියල.

**ශ්‍රාවක :** මේ කතාබහට අදාළ නැති වුනත්, සුළුවෙන් හරි මිත්‍යා දෘෂ්ටිය මොකක්ද කියල කියල දෙන්න.

**දේශක :** දස වස්තුක මිත්‍යා දෘෂ්ටිය කිව්වම නම් අයිති වෙන්නෙ මවෙක් නෑ, පියෙක් නෑ, පර ලොවක් නෑ, දානයේ ආනිසංස නෑ, ලොව සත්‍යය යථාර්ථය දත් ශ්‍රමණ බමුණන් නෑ... ආදී වශයෙන් කියන කාරණා 10. නමුත් මේ සූත්‍රයෙන් පෙන්වල දෙන්නෙ ඇසයි, රූපයි, චක්ඛු විඤ්ඤාණයයි, චක්ඛු සම්පස්සයයි, චක්ඛු සම්පස්සයෙන් හට ගන්න සුව, දුක්, උපේක්ෂා කියන විඳීම් 3 යි, අනිසි ලෙස දැනගෙන දකින්න කියල. ඒවා අනිසි විදිහට දැනගෙන දැකල නැති අය මිත්‍යා දෘෂ්ටිය තවමත් පහ කරගෙන නැති අය විදිහට හඳුන්වල තියෙනවා. ඒ කියන්නෙ ඒ වගේ අයට තමයි ආර්ය විනයට අනුව මිත්‍යා දෘෂ්ටිකයින් කියන්නෙ. මේ ආකාරයට ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රිය 6 ගැනම විස්තර කරල තියෙනවා.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ ඇහෙන් රූප පස්සෙ ආස්වාද හොයමින් තවමත් හඹාගෙන යනව නම් ඒ පුද්ගලයා මිත්‍යා දෘෂ්ටිකයෙක්. ඒ විදිහට රූප, ශබ්ද, ගන්ධ... පිටුපස සැප හොයමින් හඹාගෙන යන අයට තමයි මිත්‍යා දෘෂ්ටිකයො කියන්නෙ.

**දේශක :** අපි වෙනත් අවස්ථාවක ඔය ගැන ගැඹුරින් විස්තර කතා කරමු. දැන් වැටහෙනව ඇති, මිත්‍යා දෘෂ්ටිය පහ කරගන්න නම් ඇස - රූප, කන - ශබ්ද, නාසය - ගන්ධ... ආදී ලෝකයේ ආදීනව දැකගත යුතු බව. මේ රටේ ඉන්න බහුතර පිරිසක් තවමත් දැකල නැති ලෝකයේ ආදීනව පෙන්වල දෙන්න තමයි අපි මේ සාකච්ඡා සංවිධානය කරන්නෙ.

**ශ්‍රාවක :** මිත්‍යා දෘෂ්ටියෙන් මුදවගෙන නිවැරදිව ධර්මය අහල දැනගත්ත සෘතවත් ආර්ය ශ්‍රාවකයෙක් වෙන්න, ත්‍රිපිටකයේ සූත්‍රවල විතරක් අඩංගු ධර්ම කරුණු පෙන්වල දෙන්න සංවිධානය කරන මේ සාකච්ඡාවලට බාධක පමුණුවන එක මොන තරම් දරුණු පාපයක්ද කියල තේරුම් ගන්න අපි මේ කරපු කතාව ප්‍රමාණවත් කියල මම හිතන්නෙ නෑ.

**දේශක :** එහෙම හිතන්න එපා. දැනටමත් අපි වසර 10 - 15 ක් තිස්සේ මේ ධර්ම සාකච්ඡා පවත්වමින් හෙමින් ඉදිරියට යනවා. යම් කිසි දවසක සමාජයේ අති ප්‍රබල ක්‍රියාකාරී අයත් මේ දහම වටහා ගනීවි. ඊට පස්සෙ ඔය බලාපොරොත්තු වෙන වේගයෙන්ම මේ ශ්‍රී සද්ධර්මය අති බහුතරයක් දෙනා අතරට පත් වේවි. දහම දැනටමත් තේරුම් අරගෙන ඉන්න අය දන්න මාර්ගය ඔස්සේ ඉදිරියටම ගිහින් අරිහත් ඵලය පූර්ණ කරගන්න අධිෂ්ඨාන කරගත්තොත්, ඉතා ඉක්මනින් මේ ධර්මය ලෝකයටම නැවත ලබා දෙන්න පුළුවන් වේවි.

**ශ්‍රාවක :** මම නම් මොන බාධකය දැම්මත් මේ දැනගත්ත දහම, මම දන්න කියන අයට ලබාදෙන්න කටයුතු කරන එක නම් නවත්වන්නෙ නෑ. මේ ශ්‍රී සද්ධර්මයේ වටිනාකම තවමත් හඳුනගෙන නැති මගේ හිත මිතුරන්ට කියල දෙන්න ගියාම ඇතිවෙන ප්‍රශ්නයක් තමයි, ඒ අයට මම කියන කරුණු කාරණා වටහා ගන්න බැරි වීම. ඒක හරියටම බුදු රජාණන් වහන්සේ ද්විතීය වස්සකාර සූත්‍රයේ දේශනා කරල තියෙන, අසත් පුරුෂයන්ට සත් පුරුෂයන්ව හඳුන ගන්න බෑ කියල තියෙන විදිහෙ වැඩක් තමයි. ඒ ගැන වැඩිදුර පැහැදිලි කරගැනීමක් කර ගත්තොත් හොඳයි කියල හිතෙනවා.

**දේශක :** සත්පුරුෂ සංසේවනය, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම පටිපදාව කියන මේ අංග 4 සම්පූර්ණ වෙච්ච අවස්ථාවක තමයි මේ ධර්මය නිවැරදිව අවබෝධ වෙන්නෙ. ඒ ආකාරයෙන් අවබෝධය ලබාගත්ත අය තමයි අනිත් අයටත් ඒ අවබෝධය ලබා දීම සඳහා මේ ආකාරයට ධර්ම සාකච්ඡා පවත්වන්නෙ. ඒ අයට සත් පුරුෂ ඇසුර ලැබිල තියෙනවා. ඒ කියන්නෙ දහම දැනගත්ත කෙනෙක්ගෙන් දහම අහගෙන දැනගෙන තියෙනවා.

මෙතනදි අසත් පුරුෂයා කියල කියන්නෙ ඔය ක්‍රමවේදයෙන් දහම අවබෝධ කරගත්තෙ නැති අය. ඒ වගේ අය තමයි අපේ සමාජයේ අති බහුතරයක් ඉන්නෙ. ඒ සියලුම දෙනාට දහම දැනගත්ත සත් පුරුෂයෙක් හඳුන ගන්න බැරි බවත්, ඒ වගේ දෙයක් සිද්ධ වෙන්න අවකාශ නැති බවත් ද්විතීය වස්සකාර සූත්‍රයේ සඳහන් වෙනවා.

**ශ්‍රාවක :** ඒ නිසා තමයි අද ලංකාවෙ ධර්මය දේශනා කරන ඒ ගෞරවනීය ස්වාමීන් වහන්සේලාත්, අනෙක් විද්වත් පිරිසත්, දහම දැනගෙන දේශනා කරන අයද නොදැන දේශනා කරන අයද කියල බොහෝ පිරිසකට හොයාගන්න බැරි වෙලා තියෙන්නෙ.

**දේශක :** දහම දන්න සත් පුරුෂයෙක්-ගෙන් දහම අහගන්නෙ නැතිව, පොත්පත් කියවල ලෝකයේ තියෙන සියලුම විභාග සමත් කරල තිබුනත්, මුළු ත්‍රිපිටකයම කට පාඩම් කරල තිබුනත්, ඒ අයට සත් පුරුෂයෙක් වෙන්න බෑ. වෙනත් සත් පුරුෂයෙක් හඳුන ගන්නත් බෑ. ද්විතීය වස්සකාර සූත්‍රයම කට පාඩමින් තිබුනත් මේ කියන ගැඹුරු කාරණය තේරුම් ගන්නත් බෑ. නමුත් තමන් මේ ධර්මය සම්පූර්ණයෙන්ම දැනගෙන නිවැරදිව අවබෝධ කරගෙන ඉන්නව කියල තමයි හිතාගෙන ඉන්නෙ. ඒ නිසාම සත් පුරුෂයෙක්, ඒ කියන්නෙ ධර්මය නිවැරදිව අවබෝධ කරගත්ත කෙනෙක් ධර්මය ගැන කරුණු පැහැදිලි කිරීමක් කළත්, ඒ කරුණු ගැන ගැඹුරින් හිතල බලන්න කිසිම උත්සාහයක්වත් අරගන්නෙ නෑ. ඒ අය දැනටමත් දන්න ධර්ම කරුණු ටිකේම එල්ලිලා ඉන්නවා.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ ඒ අයට කවද හරි සත් පුරුෂයෙක් මුණගැහිල ධර්මය නිවැරදිව අවබෝධ කරගන්න තියෙන අවස්ථාව ඒ අය විසින්ම වළක්වගෙන ඉන්නව කියන එක නේද ? මේක හරිම අන්ත අසරණ තත්ත්වයක්. ඒ අය සමග දයානුකම්පාවෙන් කටයුතු කළ යුතු බව දැන් මටත් තේරෙනවා. ඒ අය මේකෙන් මුදවගන්න ක්‍රමයක් ඇත්තෙම නැත්ද ? අඩුම තරමින් තමන් මාර්ග ඵල ලබාගෙන නැති බවවත් දන්නෙ නැත්ද ?

**දේශක :** වැඩි පිරිසක් මාර්ග ඵල ලබාගෙන නැති බව දන්න බව පේනවා. මොකද ඒ අයම

ඒ අයව පෘතජ්ජනයින් විදිහට හඳුන්ව ගන්නවා. තවත් සමහර අය තමන්ව සම්මුති මහා සංඝ රත්නය විදිහටත් හඳුන්වල, මීට පෙර වැඩ හිටියෙ ආර්ය මහා සංඝ රත්නය බවත් දේශනාවලදි සඳහන් කරනවා මට ඇහිල තියෙනවා.

**ශ්‍රාවක :** ඒ ආකාරයට දැනුම් තේරුම් තියෙද්දිත් දිගින් දිගටම මේ ශ්‍රී සද්ධර්මයට අවලාද නගන්නෙ ඇයි කියල මට නම් තේරෙන්නෙ නෑ.

**දේශක :** ඒ අය අන්ත අසරණ තත්ත්වයක ඉන්නෙ කියල ඔබම දැන් තේරුම් අරගෙන ඉන්නව කියල කිව්ව නේද ? ලෝක සත්ත්වයින් පාපයෙන් මුදව ගන්න දේශනා පවත්වන සියළුම දේශකයින් වහන්සේලාට කවුරුහරි දැන හෝ නොදැන අපවාද කළත්, දයානුකම්පාවෙන් කටයුතු කරනව හැර වෙනත් දෙයක් කරන්න අපිට ඉතිරි වෙලා තියෙනවද ?

**ශ්‍රාවක :** මේ වගේ තත්ත්වයක් සම්බන්ධයෙන් බුදු රජාණන් වහන්සේගෙ දේශනාවක් නොතිබෙන්න හේතුවක් නෑ. ත්‍රිපිටකයේ සඳහන් සූත්‍ර දේශනාවලින් මේ තත්ත්වය විග්‍රහ කරගන්න පුළුවන්ද ?

**දේශක :** ද්විතීය වස්සකාර සූත්‍රයේම, දහම දන්න අයට දහම දන්න අයව හඳුන ගන්න පුළුවන් කියල දේශනා කරල තියෙනවනෙ. ඒක වෙන්නෙ මෙහෙමයි. දහම නොදන්න කෙනෙක් දහම දන්න කෙනෙක්ගෙන් ධර්මය අහගන්න කොට ඒ පුද්ගලයගෙ ප්‍රඥාව වැඩෙනවා. ඒ වැඩුන ප්‍රඥාවට, පෙර අහල නැති දහම් කරුණු හොඳින් වැටහෙනවා. ඒ නිසා ඔහු දහම දන්න කෙනෙක් බවට පත්වෙනවා. ඊට පස්සෙ ඒ පුද්ගලයට පුළුවන් වෙනවා, තමන්ට මේ පෙර අහල නැති දහම කියල දුන්න තැනැත්තා දහම දන්න අයෙක් විදිහට හඳුන ගන්න. අනිත් කාරණය තමයි, ගුවන් විදුලියෙන් රූපවාහිනියෙන් මහ විසාල පිරිසකට ධර්ම දේශනා කරන්න කියල තියෙන සූත්‍රයක් නම් මට මුණගැහිල නෑ. හැබැයි මට මුණ ගැහුනා මිත්ථාමච්ඡ කියල සූත්‍රයක් (සංයුක්ත නිකාය, 5 කාණ්ඩය, 2 වන පොත - 173 පිටුව). ඒකෙන් කියන්නෙ තමන්ගෙ ලේ නෑයින්ටයි, නෑයින්ටයි, තමන්ගෙ මිතුරන්ටයි මේ ගැන කියල දෙන්න කියල.

**ශ්‍රාවක :** නෑදෑයින්ටයි, මිතුරන්ටයි ඇරෙන්න අනිත් අයට ධර්මය කියල දීමෙන් ඵලක් නැත්ද ?

**දේශක :** මෙතනදි අපි ගැඹුරින් තේරුම් ගන්න ඕන කාරණයක් තියෙනවා. දහම නොදන්න කෙනෙකුට දහම දන්න කෙනෙක් හොයා ගන්න එක ලේසි කාරණයක් නෙවෙයි. දහම දන්න කෙනෙක් ඒ පුද්ගලයත් එක්ක එකටම හිටියත් ඒ පුද්ගලයට හොයා ගන්න ක්‍රමයක් නෑ. හැබැයි හිතල බලන්න, දහම දන්න කෙනෙක් ඉන්නව නම් තමන්ගෙ ඥාතීන්ටයි, මිතුරන්ටයි කිසිම ප්‍රශ්නයක් නැතිව කියල දෙන්න පුළුවන්කම තියෙනවා. අහන අය තමන්ගෙ ඥාතීත්වය, මිත්‍රත්වය නිසා මොනවද මේ කියන්නෙ කියල හොයල බලන්න පෙළඹෙනවා. එහෙම හොයල බැලුවම තමයි ඒ අයට මේ ධර්මය වැටහෙන්නෙ. හැබැයි එහෙම වැටහුනේ නැතත්, දහම දැනගත්ත කෙනා ඒ අයව ලේසියෙන් අත්හරින්නෙ නෑ. පුළුවන් හැම ආකාරයටම කියල දෙන්න බලනවා. නැත්නම් මේ ධර්ම සාකච්ඡාවකට බලෙන් හරි ඇදගෙන එනවා. ඒ වගේ ක්‍රමවේදයක් තුල කාටහරි මේ දහම නිවැරදිව වටහගන්න වැඩි අවස්ථාවක් තියෙනව නේද ?

**ශ්‍රාවක :** ඔව්. ඒක නම් හරි තමයි. මොකද මේ දහම අහල වටහගත්තට පස්සෙ තමයි, මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙන එකේ වැදගත්කම කොච්චරද කියල තේරුම් යන්නෙ. මුලින්ම මම මේ සාකච්ඡාවලට සම්බන්ධ වුනේ මගේ යහළුවගෙන් බේරෙන්න බැරිවෙච්ච නිසා.

**දේශක :** මේ විදිහට ධර්මය වටහගත්ත අය තමන්ගෙ නෑදෑයින්ටයි, යාළුවන්ටයි දිගින් දිගටම මේ ගැන කියනකොට, ඒ අයට යාළුකම නිසයි, නෑකම නිසයි එන්න සිද්ධ වෙනවා. ඇවිත් ශ්‍රී සද්ධර්මය අහන ගමන් ඒ අයගෙ ප්‍රඥාව වැඩෙන්න ගන්නවා.

**ශ්‍රාවක :** ඒ කොහොමද සද්ධර්මය අහනකොට ප්‍රඥාව වැඩෙන්නෙ ?

**දේශක :** ඒ ගැන ආලවක සූත්‍රයේ සඳහන් වෙනවා. ආලවක යක්ෂයා දමනය කළාට පස්සෙ, ඔහු අහන එක ප්‍රශ්නයක් තමයි ප්‍රඥාව ලබාගන්න පුළුවන් වෙන්නෙ කාටද කියන එක. ඒකට පිළිතුරු විදිහට බුදු රජාණන් වහන්සේ දේශනා කරනවා, මේ ධර්මය ශ්‍රවණය කරන අය ප්‍රඥාව ලබා ගන්නව කියල. මේ ආකාරයට ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙලා ප්‍රඥාව ලබාගන්න අයට තමයි ධර්ම අවබෝධය ලැබෙන්නෙ.

**ශ්‍රාවක :** මටත් ඔය ගැන ටිකක් දැනිලයි තිබුනෙ. මොකද අපේ සාකච්ඡාවලට හුඟක් අය සම්බන්ධ වෙන්නෙ ඒ වගේ වද කර කර එන්න කියපු නිසා තමයි. මේ වගේ සාකච්ඡාවක් තියෙනව කියල දැන්වීම් ගහල බෙදුවත්, බැනර් ප්‍රදර්ශනය කළත් ඒ හැටි පිරිසක් සම්බන්ධ වෙන්නෙ නෑ.

**දේශක :** ඔය නිසාම තමයි බුදු රජාණන් වහන්සේ යාළුවන්ටයි, නෑදෑයන්ටයි මේ ගැන කියන්න කියල දේශනාවක් කරල තියෙන්නෙ. අනිත් එක ඔබ අහල තියෙනවනෙ ශ්‍රී සද්ධර්මය හරිම දුර්ලභයි කියල. එහෙම දුර්ලභ දහමක් විසාල පිරිසකට නිකන්ම අහන්න ලැබෙයි කියල හිතන්න පුළුවන්ද ?

**ශ්‍රාවක :** ඒ කියන්නෙ දහම දැනගත්ත අයට කරන්න ඉතුරු වෙලා තියෙන්නෙ එකම දෙයයි. ඒ තමයි තම තමන්ගෙ යාළුවන්ටයි, නෑදෑයන්ටයි කොහොම හරි වද කරල හරි, හොඳින් හරි බලෙන් හරි මේ සාකච්ඡාවලට එක්කගෙන එන එක.

**දේශක :** ඔව්. බලෙන් එක්කගෙන ආවත් කමක් නෑ, හොඳක් කරන්නනෙ හදන්නෙ. ඇයි අහල නැත්ද අර ඝටීකාර කියල ඒ කාලෙ හිටපු යාළුවෙක් තමන්ගෙ ජෝතිපාල කියන යාළුවාව කොණ්ඩයෙන් අල්ලල ඇදගෙන යන්න හැදුව කියන කතාව.

**ශ්‍රාවක :** ඔව්. මම අහල තියෙනවා. ඒ අපේ බෝසතාණන් වහන්සේවනෙ එහෙම ඇදගෙන යන්න හදල තියෙන්නෙ. එහෙම කරල තියෙන්නෙ හොඳ දෙයක් යාළුවට දෙන්න ඕන නිසානෙ. මම කරන්නෙ හොඳ දෙයක් බව මමත් හොඳාකාරවම දන්නවා. ඒ කියන්නෙ මෙච්චර කාලයක් ධර්මය කියල අහල තිබ්බ්ච දේවල්වලට වඩා ගොඩක් වැදගත් කරුණු රාශියක් තියෙන බව මේ වගේ සාකච්ඡාවලින් මම දැනගත්තා. ඒ අනුව මමත් මාව ඇලීමෙන් ගැටීමෙන් වළක්ව ගන්න අඛණ්ඩව උත්සාහ කරමින් තමයි දැන් ඉන්නෙ.

**දේශක :** තමන් නිවෙන බව තමන්ටම දැනුන නම් ඒ හොඳටම ඇති.

**ශ්‍රාවක :** මේ ශ්‍රී සද්ධර්මය ☞



# පෙළ දහමේ සැඟවුනු තැන් සොයා... 02

**අංගුත්තර නිකාය - 1**

121 පිටුව
සමථය වැඩීමෙන් භාවිත සිත වැඩේ, රාගය පහ වේ.
විදර්ශනාවෙන් ප්‍රඥාව වැඩේ, අවිද්‍යාව පහ වේ.
රාගයෙන් කිළිටි වූ සිත නොමිදේ.
අවිද්‍යාවෙන් කිළිටි වූ විට ප්‍රඥාව නොවැඩේ.
රාග විරාගයෙන් චේතෝ විමුක්තිය වේ.
අවිද්‍යා විරාගයෙන් ප්‍රඥා විමුක්තිය වේ.

123 පිටුව
**සක්විති රජයෙන් පිදුවත් මව්පිය උපස්ථානය සම්පූර්ණ නොවේ.**

**ශ්‍රද්ධාව නැති මව්පියන් ශ්‍රද්ධාවෙහි පිහිටු වීම, මසුරු වූවන් ත්‍යාගයෙහි පිහිටු වීම, දුෂ්ප්‍රාඥ වූවන් ප්‍රඥාවෙහි පිහිටු වීම යන මේවායින් උපකාර කිරීමෙන් වැඩිමනත් උපකාර කළාද වේ.**

එකී පිටුවේම,

දුෂ්චරිතයෙන් වෙන්වන්න දේශනා කරන බැවින් අක්‍රියවාදී කීමට සුදුසු බවත්, සුචරිතය කරන්න කීමෙන් ක්‍රියාවාදී කීමට සුදුසු බවත්, බුදු රජුන් ගැනද මෙසේ කිව හැකි බවත් පෙන්වයි.

129 පිටුව
රූපාවචර දෙවියන්ගේ සංවරත්වය ඒ ලොවෙහිදී නොව මෙහිදීම වැඩූ සිත නිසා ලැබුන බව පෙන්වයි.

231 පිටුව
ආකාර 3 ක සිත් ඇති අය ගැන සඳහන් වේ. ඒ තුවාලයක් වැනි, විදුලියක් වැනි, වජ්‍රයක් වැනි යනුවෙනි.
275 පිටුව
සංඛත ලක්ෂණ - ඉපදීම පැනෙයි. නැස්ම පැනෙයි. සිටියහුගේ අන්‍යතාවයට පත්වීම පැනෙයි. (පැනවෙයි)

අසංඛත ලක්ෂණ - ඉපදීම නොපැනෙයි. නැසීම නොපැනෙයි. අන්‍යතාවයට පත්වීම නොපැනෙයි. (නොපැනවෙයි)

289 පිටුව
රටක ජනතාව වැඩිව තිබී අඩු වන්න හේතු,
අධර්ම රාගයෙන් - විෂම ලෝභයෙන් - මිත්‍යා ධර්මයෙන් යුක්ත වූ විට
අව්ගෙන නැසීමෙන් - මේඝයෝ නිසි ලෙස වැස්ස නොදීම නිසා සාගතයෙන් - යක්ෂයෝ සැඩ යකුන් මුදා හැරීමෙන් සිදුවන බව පෙන්වයි.

301 පිටුව
සංගාරව බමුණා, ලොවට සේවය කරන බමුණන් මෙන් නොවන භික්ෂුව තමන්ට සීමා වූ පිළිවෙතක සිටින පිරිසක් ලෙස කිවු විටෙක බුදු රජුන් දුන් පිළිවෙත පෙන්වයි.

**තමන් විමුක්තිය ලබා විමුක්ති මාර්ගය අන්‍යයන්ට පෙන්වන භික්ෂුව ලොවට සේවය කරන පිරිසක් බවත්, ලෞකික සේවයට වඩා මෙම සේවය මහත් ඵල ලබා දෙන බවත් පෙන්වා ඇත.**

305 පිටුව
මේ සාසනයේ සෘද්ධි ප්‍රාතිහාර්ය, ආදේශනා ප්‍රාතිහාර්ය, අනුසාසනා ප්‍රාතිහාර්ය යනුවෙන් ප්‍රාතිහාර්යන් 3 ක් ඇති බවත්, මෙයින් අනුසාසනා ප්‍රාතිහාර්ය උතුම් බවත් පෙන්වයි.

311 පිටුව
බමුණු මත 3 ක්. පුබ්බේකථ හේතු වාදය, ඊශ්වර වාදය, අහේතුක වාදය
දස අකුසල කරන අය මෙලොවදී කරන දේ මිස ඒවා පෙර කර්ම හේතුවෙන් වන දේ නොවන බව පෙන්වයි.

325 පිටුව
දිව්‍යමය උසසුන් (උස් අසුන්)
මහසුන් (මහ අසුන්) - බ්‍රහ්ම

---

තේරුම් ගන්න බැරිකම නිසා කෙනෙක් අවලාද නැඟුවත්, දහම් සාකච්ඡා නවත්වන්න කටයුතු කළත්, මම මගේ නෑදෑයින්ටයි, යාළුවන්ටයි මේ ගැන කියන එක නම් ඔය කාටවත් නවත්වන්න පුළුවන් වෙන්නෙ නෑ.

**දේශක :** එහෙම ඔබ ඔබේ යාළුවන්ටයි, නෑදෑයින්ටයි මේ ගැන කියනව නම් ඒ අයටත් ඔබටත් හොඳක්ම තමයි වෙන්නෙ. අවලාද නගන අය ඒක නොදැන කරන බව ඔබ හොඳින්ම දන්න නිසාත්, ඇත්ත වශයෙන්ම ඒ අය ඉන්න අසරණ තත්ත්වය ඔබ හොඳින් වටහාගෙන ඉන්න නිසාත්, ඒ සියළු දෙනාටම ආර්ය මෛත්‍රිය වඩන්න ඔබට දැන් ලේසියෙන්ම පුළුවන්. මේ ආකාරයට ලෝක සත්ත්වයින්ට මෙත් සිත පතුරවමින් ඔබත් තමන් දැනගත් මග ඉක්මනින් පූර්ණ කරගන්න දැඩි අධිෂ්ඨානයක් ඇති කරගන්න.
තෙරුවන් සරණයි.

**සටහන**

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

උසසුන් මහසුන් - ආර්ය උසසුන් මහසුන් ගැන පෙන්වයි.
මේවා සතර ඉරියව්වෙන්ම කළ හැකි බව පෙන්වයි.

333 පිටුව

**මිසදිටු ගත් කෙනෙකුගේ අදහස හරියට පෙන්වන විට මිසදිටු අත්නොහරින අය ක්‍රියා කරන ආකාර 3 කි.**
**ප්‍රශ්නය වෙනතකට යොමු කරයි, කෝපය ද්වේශය පහළ කරයි, බිම බලාගෙන සිටියි.**

343 පිටුව

කාලාම සූත්‍ර විස්තරය. සතර ආස්වාස ගැන ඇත. නමුත් ඒ අස්වැසිලි හතරක් මිසක් හුස්ම නොවේ.

353 පිටුව

ප්‍රශ්න විසඳන විට කළ යුතු 4 ආකාරයක් පෙන්වයි.
ඒකාන්ත කොට විසඳීම - විස්තර කර විසඳීම - ප්‍රශ්න නගා විසඳීම - බහා තැබීම

379 පිටුව

අරිය උපෝසථයේ ආනිසංස හා දෙව්ලොව ආයුස පෙන්වා ඇත.

397 පිටුව

තුන් භවය ගැන විස්තර කර ඇත.
කර්මය කුඹුරයි. අභි සංඛාර විඤ්ඤාණය බීජයයි. තෘෂ්ණාව ජලයයි.
අවිද්‍යාවෙන් ඇවුරුනු තෘෂ්ණාවෙන් බැඳුනු චේතනාව කාම නම්, කාම භවයෙහි පිහිටයි.
චේතනාව රූප නම් රූප භවයේ පිහිටයි. අරූප නම් අරූප භවයේ පිහිටයි.

403 පිටුව

සිඛී බුදුන්ගේ අභිභූ ශ්‍රාවක බඹ ලොව සිට සහශ්‍රී ලෝක ධාතුව ස්වරයෙන් හැඬ වීය.
එය බුදුවරුන්ට අසීමිතව හැකි බව පෙන්වයි.
සඳ හිරු යම් තාක් බබලමින් හැසිරේද, මේ සහශ්‍රී චූලනී ලෝක ධාතුවයි.
මෙබඳු දහසක් ලෝක ධාතු ද්වී සහශ්‍රී මධ්‍යම ලෝක ධාතුවයි.
එබඳු දහසක් ත්‍රී සහශ්‍රී මහාසහශ්‍රී ලෝක ධාතුවයි.
මේ හෝ මීට වඩාද ස්වරයෙන් මුණිවරුන්ට හඬ නැගිය හැකිය.
මෙය ඇසූ අනඳ හිමි සතුට ප්‍රකාශ කළ විට, උදායී තෙරුන් අවඥා සහගතව කතා කළ විට, එය වළකා, අනඳ හිමි අවීතරාගීව කළුරිය කළේ නම් මේ පිනින් හත් වරක් සක්‍ර දේව වීමටත්, හත් වරක් දඹදිව මහ රජ වීමටත් හේතුවන බව පෙන්වා ඇත.

409 පිටුව

විසාලා මහනුවර කූටාගාර ශාලාවෙහිදී, භික්ෂුවකට පොහොය කළ නොහැකි බැවින් උපසම්පදාව ප්‍රතික්ෂේප කළ විට අධි සීල, අධි චිත්ත, අධි ප්‍රඥාව යන ත්‍රිසික්ෂාව පනවන ලදී. එසේ හික්මෙන විට රාග, ද්වේශ, මෝහ පහ වන බවත්, එවිට අකුසලයන් /පාපයන් සිදු නොවන බවත් පෙන්වා ඇත.

411 පිටුව (විශේෂ)

ඉහත කී ත්‍රිසික්ෂාවට හැම සිඛ පදයක්ම සංග්‍රහ වන බවත්, මෙසේ වඩන භික්ෂුව කුඩා අනු කුඩා සිඛ පද කැඩෙනවා සේම ඉන් නැගී සිටීමද සිදුවන බවත්, මේ සික්ෂා අභව්‍ය බව දේශනා නොකළ නිසා නිබඳ සිල් ඇතියෙක් වන බවත්, තුන් වැදෑරුම් සංයෝජන ක්ෂය වූ සෝතාපන්නයෙක් විය හැකි බවත්, ඉතිරි ඵල ලබන බවත් පෙන්වා ඇත.

445 පිටුව

දුසිල් වූ ගුණ හීනයා කරන අල්ප මාත්‍ර පාපයෙනුත් අපාගත වේ.
සිල්වත් ගුණවත් කෙනාගේ අල්ප මාත්‍ර පාප කර්මය දිට්ඨ ධම්මවේදනීය වේ, පරලොව විපාක නොදේ.
**දුසිලාගේ පාපය දිය බඳුනක් ලුණු ටිකකින් ලුණු රස කළ හැකි මෙනි.**
**සිල්වත් ගුණවතාගේ පාපය ලුණු මිටක් ගංගා ජලයට දමුවා මෙනි.**

451 පිටුව

කරන ලද සුළු කර්මයක් විපාක නොදී අවසන් නොවේ යැයි කීම දෘෂ්ටියකි.
එසේ වුවහොත් බ්‍රහ්මචරිය වාසයෙන් දුක් කෙළවර කිරීමක් සිදු නොවේ.

457 පිටුව

සිත වඩන යෝගාවචරයා කලින් කල සමාධි නිමිත්තද, කලින් කළ පග්ගහ නිමිත්තද, කලින් කළ උපේක්ෂා නිමිත්තද මෙනෙහි කළ යුතු බව පෙන්වයි.
රන්කරු කෝවෙහි රන් උණු කරන මෙනි. කලින් කල ගිනි දෙවයි, කලින් කල දිය ඉසියි, කලින් කල රන්වල තත්ත්වය විමසයි. එසේය.

459 පිටුව

සමාධි නිමිත්තම මෙනෙහි කළහොත් සිත කුසීත බවට වැඩෙයි.
පග්ගහ නිමිත්තම මෙනෙහි කළහොත් වික්ෂිප්ත වෙයි.
උපේක්ෂාවම මෙනෙහි කළහොත් අරිහත්වයට බාධා වෙයි.

465 පිටුව

මේ ආර්ය විනයෙහි, ගීතය හැඬීමකි, නැටුම උමතුවකි. දත් විදහා කරන හිනාව ළමා කමකි. නින්ද - සුරාව - මෛථුනය අතෘප්තිකර කරුණුය.

481 පිටුව

දෘෂ්ටි විපත්තිය නම් - දස වස්තුක මිසදිටුවයි.
සීල විපත්තිය නම් - දස අකුසලයේ කයින් සහ වචනයෙන් කෙරෙන අකුසල් වේ.
චිත්ත විපත්තිය නම් - අභිද්‍යා දොම්නසයි.
සම්පත්ති 3 මේවායින් වෙන්වීමයි.

517 පිටුව

කර්ම වාද, ක්‍රියා වාද දෙක බුදු රජුන් අනුමත කරයි. (ගැලපෙන ලෙසට ගත් විටයි.)

## සංයුක්ත නිකාය 4 - යව කලාපී සූත්‍රය

387 පිටුව

මේ මම වෙමි - වන්නෙමි - නොවන්නෙමි යනාදී ලෙස රූප, වේදනා, සංඥා... ආදී කුමක් ගත්තත් එය මඤ්ඤනාවකි, රෝගයකි, ගඩකි.
එබැවින් මඤ්ඤනා රහිත විය යුතුය. (කෙනෙක් පිස්සු විකාර වැඩ කරනකොට මඤ්ඤන්ද කියල අදටත් අහන සිරිතක් ඇත.)

මේවා ඉන්ජිතයයි කියති. ඉන්ජිතය හුලකි, රෝගයකි, ගඩකි.
මේවා එන්ජිත යයි කියති.. එන්ජිතය රෝගයකි, හුලකි, ගඩකි.
මේවායින් වෙන්ව විසිය යුතුය.
මේවාට පපංචිත යැයිද, මාන යැයිද කියති.

## දට්ඨබ්බ සූත්‍රය

395 පිටුව

සැප වේදනා දුක් ලෙසද, දුක් වේදනා හුල් ලෙසද, උපේක්ෂා වේදනා අනිච්ච ලෙසද දැක්ක යුතුයි. එවිට වේදනා පිරිසිඳ දැක්කා වේ. වේදනා නිරෝධ වේ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# බුදු බස අස්කරන්නන් බස්සන් වී ඉපදීම

බුදුන් වහන්සේගෙන් බණ අහපු ආලවක, නටගාමිණී වගේ අය ධර්මාවබෝධ වීමෙන් පසු තමන්ගෙ ප්‍රසාදය පළ කරපු වැකියක් තියෙනවා, "අඳුරේ සිටින කෙනෙකුට රූප පෙනෙන්නට තෙල් පහනක් දරා සිටියා වගෙයි" කියල. බුදු බණ අවබෝධයෙන් පසු අවිද්‍යා අඳුර පරදවා නැගෙන ප්‍රඥාලෝකය ගැන ඒකෙන් පැහැදිලි වෙනවා.

යම් කෙනෙක් දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ මේ බුද්ධ වචනය වහන්න හෝ දේශනා කරන දේශකයන්ට අපහාස කරමින් අන් අයවත් ඒ වැරදි දෘෂ්ඨිවල සමාදන් කරවන්න හෝ කටයුතු කරනව නම්, ලෝක සත්ත්වයන් අඳුරෙන් ආලෝකයට යන වැඩ පිලිවෙලට අකුල් හෙලීම නිසා ඔවුන් බොහෝ පව් රැස්කර ගන්නවා. ඒ හේතුවෙන් අඳුරු දුක්ඛිත අත්බැව් ලබන්න හේතු හදා ගන්නවා.

ධර්මය අධර්මය කිරීම, අධර්මය ධර්මය කිරීම, ආර්ය උතුමන්ට අපවාද කිරීම අපාගත වෙන්න හේතුවෙන අකුසල කර්ම බව ධර්මයේ පැහැදිලිව සඳහන් වෙනවා. ඒකෙ භයානකත්වය දහමට අනුව පෙන්වා දෙනකොටත්, ඒ අය දිගටම "අපා" (එපා) කියන දෙයට කැමැත්තෙන්ම "අය වෙලා" (එකතු වෙලා), (අපා + අය) අපායට යන්න හේතු හදා ගන්නවා. ඔවුන් නිරයන්වල අවුරුදු කෝටි ගණන් කියන්න බැරි තරම් කාලයක් අප්‍රමාණ දුක් වද වේදනා විඳිනවා.

අපි දන්නවා අරිෂ්ඨ වගේ බෙහෙත් බොහෝ කාලයක් පල් වෙන්න, පැහෙන්න තියනවා. ඒක තමයි "පාක" කියන වචනයෙන් කියන්නෙ. ඒ අනුව විශේෂයෙන් පැහී ඇති අර්ථයෙන් (වි + පාක) විපාක කියනවා. කරණීයමත්ත සූත්‍රයේ "නිපකෝච" කියන්නෙ විපාක පිණිස කර්ම රැස් කර නොගැනීම. කිරි දොවා ගත්ත ගමන්ම මිදෙන්නෙ නෑ වගේ, පව් කළ සැනින් විපාක දෙන්නෙ නෑ. "ළිප ගිනි මොළවන තෙක් දිය සැළියේ සැපයක් යැයි කකුළුව දිය කෙළියේ" කියන ලෝ වැඩ සඟරාවෙ එන පැරණි කවි පදයකිනුත් මේ බව සිහි කරනවා.

ඉතින් මේ විදිහට නිරයේ බොහෝ කල් විඳවල චුත වුනත්, ඒ අයගෙ කළු කර්ම විපාකවල බලය නිසා උපදින්නෙ රාත්‍රී අන්ධකාරයේ බස්සන් වගේ නිශාචර සත්තු හැටියට. විවර වූ විට බබළන (විවටෝ විරෝචති) දහම වහල, නොම බබළන තැනට පත් කළ පාප කර්මය නිසා ඔවුන්ට සූර්යාලෝකය තියෙන දවල් කාලයේ විශාරදව පෙනී ඉන්න බෑ.

දස අකුසල සංඛාර නිසා මිනිස්සු පටිච්ච සමුප්පන්නව විවිධ තිරිසන් ආදී දුගති අත්බැව්වල උපදින හැටි ආර්ය උත්තමයන් වහන්සේලා විසින් අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන කියන සිවුපිළිසිඹියා ඥානයන්ගෙන් දේශනා කරල තියෙනවා. ඒ වගේම පෙර ප්‍රකටව වඩපු ගතිගුණයන්ට අනුරූපීව, භාෂාව මොකක් වුනත් ගතිහඬ ගැලපිලා උන්ගෙ නම් පටබැඳිල තියෙන හැටි පැහැදිලි වෙනවා. බොහෝ කාලයක් සැඟවිලා තිබ්ච්ච මේ උතුම් ධර්ම චක්‍රය කුක්කුරවතිය සූත්‍රය, ඉදප්පච්චයතා පටිච්ච සමුප්පාදය ආදිය තුලින් විවර කළාම, වහල තිබ්ච්ච දෙයක් ඇරල පෙන්නුවා වගේ, මේ පෙර නොඇසූ දහම් තේරුම් ගන්න හේතු වාසනා තියෙන අයට පුළුවන් වෙනවා.

සිවුපිළිසිඹියා ඥානයන්ගෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුණ් වහන්සේ පටිච්ච සමුප්පාදයේ වැහිල තිබ්ච්ච තැන් ඇරල පෙන්වා දුන්නෙ දහම් නොදහම් හොයන චක්‍රය. දෙවරක් චක්‍රය හොඳින් ඉගෙන ගත්තම, දෙවරක් හතලිස් තුන වගේ පොතේ නැති ගාණක් වුනත් හදන්න අමුතුවෙන් පොත පෙරලන්න ඕන නෑ. 17 වන සියවසේ එංගලන්තයේ වාසය කරපු විද්‍යාඥයෙක් සහ දාර්ශනිකයෙක් වූ අයිසෙක් නිව්ටන් මහතා අඟුටු මිට්ටන් සහ යෝධයෙක්ගෙ පරණ කතාවක් පදනම් කරගෙන "මම තවදුරටත් ඉදිරිය දැක්ක නම්, ඒ යෝධයාගේ උරහිස් උඩ හිට ගත්ත නිසයි" (If I have seen further, it is by standing on the shoulders of giants) කියල ප්‍රකාශ කරල තියෙනවා. ඉතින් මේ විමසීම කරන්නෙත් අඟුටු මිටි අපි, මේ වැසී ගිය දහම නැවත මතු කළ වහරක අභයරතනාලංකාර මහ තෙරුන් නම් අති දැවැන්ත යෝධයාගේ උරහිස් මත හිටගෙන.

බස්සා කියන නමේ අරුත "බස + අස්සා" වශයෙන් නිරුක්ති ඥානයට ගෝචර වෙනවා. මොකක්ද මේ බස? බුද්ධ බස. අනිච්ච, දුක්ඛ, අනත්ත කියන්නෙ බුද්ධ බස. දැන් මේකට සිංහල පරිවර්තනය විදිහට දීල තියෙන්නෙ අනිත්‍ය, දුක්ඛ, අනාත්ම කියල. බොහෝ බෞද්ධයන් නොදන්න දෙයක් තමයි අනිත්‍ය සහ අනාත්ම කියන්නෙ සංස්කෘත වචන බව. බ්‍රාහ්මණ ☞

වංශයෙන් පැවිදි වෙච්ච යමෙලු තෙකුල කියන භික්ෂූන් දෙදෙනෙක් බුද්ධ වචනය සංස්කෘත භාෂාවට පරිවර්තනය කරන්න බුදුන් වහන්සේගෙන් අවසර ඉල්ලුවා. "මෝඝ පුරුෂය" (මෝඩයා) කියල ඔවුන්ට නිග්‍රහ කරල, බුද්ධ වචනය සංස්කෘතයට නොනැගිය යුතු බවත්, යමෙක් නගන්නේ නම් දුකුලා ඇවැත් (කටයුතු දුක් සහගත, දුෂ්කර වෙනවා) වෙන බවත් පෙන්වා දීල, ධර්මය තම තමන්ගෙ භාෂාවෙන් අවබෝධයට ගන්න කියල බුදුන් වහන්සේ අනුසාසනා කළා.

නමුත් විවිධ කාල වකවානුවල සිද්ධ වෙච්ච ආක්‍රමණ සහ සමාජ විපරිනාමයන් හේතුවෙන්, සාසනයට ඇතුල් වෙච්ච සමහර පිරිස් මේ බුද්ධ බස අස්කරල, බුදුන් වහන්සේ ඇවැත් මගින් තහනම් කරල තියෙන සංස්කෘත පද දහමට ඇතුල් කරල තියෙනවා. ඒ නිසා පෙළ දහමේ එන බුදු බසේ නියම අරුත් යටපත් වෙලා, ත්‍රිවේදය ඉගෙන ගත්ත බමුණන් තමන්ගෙ උගත් මාන්නයට හදා ගත්ත සංස්කෘත භාෂා අර්ථ ඉස්මතු වුනා. දැන් තියෙන සම්මත සිංහලවල තියෙන බොහෝ වචන සිංහලකරණය වෙච්ච සංස්කෘත වචන නිසා මේ ලිපියටත් ඒවා යොදා ගන්න සිද්ධ වෙලා තියෙනවා.

සෝවාන්, සකදාගාමී, අනාගාමී, අරිහත් කියන උතුම් මාර්ගඵල පසක් කරගන්න පංච උපාදානස්කන්ධය අනිච්ච සේ, දුක්ඛ සේ, අනත්ත සේ යෝනිසෝමනසිකාර කළ යුතු බව සංයුක්ත නිකායේ එන <u>සීල සූත්‍රයේ</u> පැහැදිලිව සඳහන් වෙනවා. ඒ වගේම තථාගතයන් වහන්සේ නමක් ලෝකයට පහල වෙන්නෙ සිල් වතක් ප්‍රකාශ කරන්න නෙවෙයි, අකුරු අටකින් යුත් පද තුනක් දේශනා කරන්න බව කියවෙනවා (නහී සීල වතං හෝති උප්පජ්ජන්ති තථාගතා - අට්ඨක්ඛරා තීණි පදා සම්බුද්ධේන පකාසිතා)

බුදු දහමේ හදවත බඳු මේ පද තුන තමයි අනිච්ච, දුක්ඛ සහ අනත්ත කියන්නෙ. මේ අනිච්ච සහ අනත්ත කියන පද "අනිත්‍ය" සහ "අනාත්ම" විදිහට සංස්කෘතයට නැගීමෙන් නියම දහම් අර්ථ යටපත් වෙනවා. නියම දහම් අර්ථ යටපත් වුනොත් පිවිතුරු දහම අවුල් වෙනවා. පිවිතුරු දහම අවුල් වුනොත් මගඵල ලාභීන් තුරන් වෙනවා. මගඵල ලාභීන් තුරන් වුනොත් සාසන කළණ වැට බිඳ වැටෙනවා. සාසන කළණ වැට බිඳ වැටුනොත් සාසන පරිහානිය සිද්ධ වෙනවා. සාසන පරිහානිය මතු සාසනය අතුරුදහන් වෙන්න හේතු වෙනවා. සාසන අතුරුදහන් වීම හැට දෙකක් අවිද්‍යාවේ දෘෂ්ටි නැවත ප්‍රබලව නැගී සිටින්න හේතු වෙනවා. ඒ දෘෂ්ටිවලින්, ඇතුලත් ගැට පිටතත් ගැට තියෙන සංසාරයේ ලෝ සතුන් අතරමං කරවනවා, අවුලෙන් අවුලට පත් කරවනවා.

කවුරු මොන හේතුවකට නම දැම්මත්, නිවන් මග අවුල් කරපු නීච ගුණයට ගැලපෙන්න බස්සට ඉංග්‍රීසි නම විදිහට "අවුල්" (Owl) කියල ගති හඬ යෙදිල තියෙනවා.

ඊළඟට අනිච්ච - අනිත්‍ය කිරීමෙන් අවුල හැදෙන්නෙ මෙහෙමයි. "යද නිච්චං තං දුක්ඛං - යං දුක්ඛං තදනත්තා" කියල බුදු වදනක් තියෙනවා. ඒකෙන් සරලව කියවෙන්නෙ යමක් අනිච්ච නම් ඒක දුකයි, යමක් අනිච්ච නම්, දුක නම් ඒක අනත්තයි කියල. මෙතන "යමක්" කියනකොට මේ ලෝකයේ නාම ධර්ම සහ රූප ධර්ම කියන සියලු දේම අයිතියි. එතකොට ඇස, කන, නාසය, දිව, කය, මන කියන අභ්‍යන්තර ඉන්ද්‍රියන් සහ ඒවට ගෝචර වෙන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධම්ම කියන බාහිර ලෝකයට අයිති දේවල්වලින් පිට "යමක්" කියන එකට දාන්න පුළුවන් කිසිම දෙයක් නෑ. ඒ අනුව අනිච්ච සියලු දේ දුක දෙනව නම්, අනිච්ච - අනිත්‍ය විදිහට භාෂා පරිවර්තකයන් අරුත් දුන්නම, අනිත්‍ය සියලු දේ දුක දෙන්න ඕන. ඒක ඇත්තද කියල විමසමු.

කකුල් දෙකම කොරවෙලා ඇවිදගන්න බැරුව රෝද පුටුවෙන් යන පුද්ගලයෙකුට වෛද්‍ය ප්‍රතිකාරවලින් පසු රෝගී බව අනිත්‍ය වෙලා පූර්ණ සුවය ලබල නැවතත් ඇවිදින්න පුළුවන් වෙනවා. දන් රෝගී බව අනිත්‍ය වීම ඒ කොර වෙලා හිටපු කෙනාට දුකක්ද? කොහෙත්ම නෑ. ඒක ඔහුට කොච්චර සැපක්ද! "දොස්තර මහත්තයා බුදු වෙන්න ඕන" කියල ඒ මනුස්සයා ඒ ගැන අහන හැමෝටම කියන්නෙත් ඒ නිසා.

තමන් බොහෝ ප්‍රිය කළ මිණිපිරියක් මියයාමෙන් පසු ඇගේ අවසාන කටයුතු කරල තමන්ගෙ දුක තුනී කරගන්න බුදු බණ පදයක් අහන්න ගිය විශාකාවට අවසානයේ තේරුම් ගියා, **ප්‍රිය ජාති අකමැති විදිහට වෙනස් වෙනකොට, එහෙම නැත්නම් විපරිනාමයට (විරුද්ධව පරිනාමය වෙනකොට) පත්වෙන කොට දුක ඇතිවෙන බව. බුදුන් වහන්සේ ඇයට වටහා දුන්නා, ජාතිවලට තියෙන ප්‍රිය බව අඩුවෙන්න අඩුවෙන්න දුක අඩුවෙන බව. ඒ වගේම යමෙකුට ජාතිවලට තියෙන ප්‍රියභාවය සම්පූර්ණයෙන්ම නැත්නම් සියලු දුකෙන් අත්මිදිය හැකි බව.**

ඒ අනුව පැහැදිලි වෙනවා, **අකමැති දේ අනිත්‍ය වීමෙන් සැපත්, කැමති දේ අනිත්‍ය වීමෙන් දුකත් ඇති වෙන බව.** බුදු බණවලින් කියන්නෙ, යමක් අනිච්ච නම් දුකයි කියල. එහෙනම් අනිච්ච නම් සැපක් තියෙන්නම බෑ. අනිත්‍ය තුලින් දුකත් සැපත් දෙකම උපදින නිසා, අනිච්ච - අනිත්‍ය හැටියට අරුත් දෙනකොට එතන අවුලක් තියෙන බව පළමුවෙන්ම වටහා ගන්න ඕන.

අනික තමයි සංයුක්ත නිකායේ එන <u>පච්චය සූත්‍රයේ</u> සඳහන් වෙනවා, "ජරා මරණං භික්ඛවේ අනිච්චං" කියල. මේක සිංහලෙන් අර්ථ දක්වල තියෙන්නෙ මහණෙනි, ජරා මරණ අනිත්‍යයි කියල. අපේ හාමුදුරුවනේ, ජරා මරණ කොහොමද අනිත්‍ය වෙන්නෙ කියල අහන්න අපිට සාධාරණ අයිතියක් තියෙනවා. මොකද හය වසරෙ ළමයෙක් වුනත් දන්නවා, ජරා මරණ නිත්‍ය බව. "ජීවිතං අනියතං මරණං නියතං" කියන බුද්ධ වචනයත් මේකට සාක්ෂි දරනවා. ජරා මරණ අනිත්‍ය නම්, ස්ථිර නැත්නම්, හැමෝටම අජර අමර වෙලා ඉන්න පුළුවන්නෙ, මොකටද නිවන් දකින්නෙ?

අනිච්ච කියන වචනය කියන්නෙ, ඡන්ද රාගයෙන් (ඉච්ඡතාවයෙන්) අපි ඇසුරු කරන පංච උපාදානස්කන්ධ සංඛ්‍යාත ලෝකය ජරා මරණ ආදී දුක්ඛයන්ගෙන් කෙළවර වන නිසා, අපට කැමති සේ නැති, අපේ වසඟයේ තියාගන්න බැරි, ඒ නිසාම දුක් ගිනි, ශෝක ගිනි ආදී එකොලොස් මහා ගිනි ඇතිවෙන බව ප්‍රඥාවෙන් විදල බලල ආදීනව දකින්න දුන්න මහා අවබෝධ ඥානයක කෙටිම කෙටි සටහනක්. ඒක ඉතා විග්‍රහ සහිතයි.

මේ වගේ මහා අවබෝධ ඥානයක් හඟවන අරුත්බර බුද්ධ වචනයක් "අනිත්‍යයිනෙ, ස්ථිර නෑ නෙ" කියල ලඝු කිරීම පැහැදිලිවම බුදු බස අස් කිරීමක්. මේ ඉදිරිපත් කරන්නෙ එහෙම බුද්ධ වචනය අස් කිරීම නිසා විපාක ගෙවන නිශාචර කුරුලු ජාතියක් ගැන. ඒ තමයි "පඬුවන් බස්සා" (Serendib Scops-owl) නම් ශ්‍රී ලංකාවට ආවේණික කුරුලු ජාතිය.

අතීත ගතිවලට අනුව උගේ කර්ම විපාක කිහිපයක් පහත දැක්වෙනවා. කර්මානුරූපීව මේ කුරුල්ලගෙ ගතිය සකස් වෙලා තියෙන ආකාරය අති පූජ්‍ය වහරක අභයරතනාලංකාර ආර්ය උත්තමයාණන් වහන්සේ සහ සමාධි ශක්තීන් තියෙන තවත් භාවනා යෝගියෙක් සමග සාකච්ඡා කරල තහවුරු කරගෙන තියෙනවා.

ඉස්සර අන් අයට ගුරු වෙලා හිටිය නිසාත්, සසරේ පැවිදි වෙලා ඇසුරු කළ පාටක් නිසාත්, ගුරු/පඬුවන් පාටට මේ බස්සාගේ ගති රුව සකස් වෙලා තියෙනවා. ගැඹුරු දහම ලඝු කිරීමේ, හෑල්ලු කිරීමේ විපාකයක් හැටියට උෟ ප්‍රමාණයෙන් සෙන්ටිමීටර 17 ක් තරම් කුඩා වෙලා, ගති හඬ තත්පර 0.3 ක පමණ කෙටි හූවක් වෙලා. ඒ හඬ දෙකක් අතර තත්පර 22 - 35 ත් අතර නිහැඬියාවක් තියෙනවා. බස්සට අංශක 360 ක් ඔළුව කරකවන්න පුළුවන් නිසා උෟ වට පිට බලමින් හඬ නගන කොට ඒ හූව කැලේ උඩ යට වට ගුප්ත විදිහට රැව් දෙනවා. ඉතින් විදුලි පන්දම් ආධාරයෙන් උෟව දකගන්න ආසාවෙන් රාත්‍රී කාලයේ කැලේට යන කුරුලු ලෝලියෝ, ඒ හඬ එන්නෙ උඩ යට වට කොයි පැත්තෙන්ද කියල හොයාගන්න බැරිව කඳු පල්ලන්වල දස අතේ රස්තියාදු වෙනවා. අන්තිමට ඒ අය බොහෝ වෙලාවට හිස් අතින්ම ආපසු එනවා. බුදු බස අස් කරල වචනයෙන් අන් අය රවට්ටපු සසර ගතියට ගැලපෙන්න, තිරිසන් වෙලත් ඒ හඬට පවා මිනිස්සු රැවටෙනවා, බයවෙනවා. මේ බස්සා හමුවෙන තෙත් වනාන්තරවල මීටර 40-45 පමණ උස දැවැන්ත ගස් තිබුනත්, බුද්ධ බස සහ ගුණ බර දේශකයන්ගේ ගුණ බස්සපු පහත් ගති නිසා පොළොවෙන් මීටර 1 - 2.5 ක් තරම් හුගක් පහත අතුවල තමයි දවල්ට ලගින්නෙ.

සාමාන්‍යයෙන් කුරුල්ලන්ගෙ ඇඟට සාපේක්ෂව ඔළුව ප්‍රමාණයෙන් කුඩා නමුත්, පොඩ්ඩක් දැනගෙන අලි ඔළුවෙන් හිටිය අතීත ගතිය නිසා බස්සන්ගෙ ඔළුව ලොකුයි. මාන්නය අධික අය ගැන කතා කරනකොට අපි කියනවා "මූට අං ඇවිල්ල" කියල. දවල් කාලයේ පඬුවන් බස්සා ලගින තැනට කිට්ටු වෙනකොට, උගේ ඔළුවෙ දෙපස පිහාටු අං දෙකක හැඩයට හදාගෙන ඔරවනවා. ඒ තමන්ගෙ හැඩය විකෘති කරගෙන වෙනත් නපුරු සතෙක් බව මවා පාන්න. කෙලෙස් උල් උදුරපු විගතබීල බව උතුම් සාසන ගුණයක්. **මාන්නයෙන් දැඩි වූ කෙලෙස් අං ඇති භික්ෂූන්, සම්මා සම්බුදු වහන්සේගේ ධර්මයේ නොවැඩෙන බව** **<u>කුහක සූත්‍රයේ</u>** සඳහන් වෙනවා. (අංගුත්තර නිකාය - චතුක්ක නිපාතය)

දහම් මාර්ගය තුල නොවැඩෙනවා කියන්නෙ දියුණුවක් ලබන්න බෑ කියන එක. "ඒ අය හැමදාම එක තැන" කියල අපි කතාවටත් කියනවා. ඉතින් ඒ විපාක ගෙවන මේ සතා දවල්ට ලගින අත්තට එකතැන් වෙලා ගොම්මන් වෙනකල් ඉන්නවා. දහම වහපු කළු විපාක නිසා එළිය කොච්චර තිබුනත් උෟ එක තැන. ඒ ඉන්නෙත් උගේ සිරුරේ පාටට හුරු, වේලිච්ච කොළවලට වැහිල, අකුල් අස්සෙ රැඳිච්ච තවත් කොළයක් විදිහට මවා පාමින්. **නැති ගුණ මවා පාමින් සද්ධර්ම ප්‍රතිරූපයන් තුලින් සාසන මග අපයෝජනය කරල, කපටිකමෙන් කොළේ වහල ගහපු සසර ගති දැන් උෟට කර්මය නමැති සාධාරණ ඥාතියා ලෝබ නැතුව දායාද කරල දීල තියෙනවා.** දැන් ඉතින් තෙත් කැලෑවලට වැටෙන අනෝරා වැහිවලට තෙමි තෙමී හැන්දෑ කළුවර එනකල් බුම්මගෙන ඉන්නවා.

"සද්ධම්මෝ පරම දුල්ලභෝ" නිවන් මග පසක් කරන සද්ධර්මය පරම දුර්ලභයි. හේතුවට අනුකූල ඵලය විදිහට බුදු බස අස් කරල මේ පරම දුර්ලභ දහම අවුල් කළ මහා පවේ විපාක විඳින පඬුවන් බස්සට තමන්ගෙ බලපරාක්‍රමයන් විහිදගෙන වර්ගයා බෝ කරගෙන බල සම්පන්නව නැගී හිටින්න බැරිවෙලා තියෙනවා. ඒ කාරණයට සමනන්තරය හෙවත් වර්තමාන පරිසර සාධකත් බලපාන්න පුළුවන්. සිංහරාජය, කිතුල්ගල, එරත්න වගේ පහතරට වැසි වනාන්තරවල ඉතා සීමිත ව්‍යාප්තියක් ඇති මේ බස්සගෙ ගහනය 200 - 250 බව විද්වතුන් ඇස්තමේන්තු කරල තියෙනවා. සීමිත ව්‍යාප්තියත්, ඉතා කුඩා ගහනයත් සලකා බලල උෟ වඳවීමේ තර්ජනයක් ඇති විශේෂයක් (endangered species) හැටියට ජාත්‍යන්තර රතු දත්ත පොතට ඇතුලත් කරල තියෙනවා.

සාසන න්‍යාය බරපතලයි. හරියට දැලි පිහියෙන් කිරි පැණි කනව වගේ. බුදු බස අස් කරල පඬියන් වෙන්න දැඟලුවොත්, සාසනයෙන් වඳ වෙලා කවදහරි පඬුවන් බස්සන් ආදී දුක්ඛිත අත්බැව් උරුම වෙන බව මේ විදිහට රතු එළි දල්වමින් මතක් කර සිටිනවා.

**සටහන**

**අමිල සල්ගාදු**

**ජාතික සංචාරක මාර්ගෝපදේශක**

**- පක්ෂි සහ ස්වභාවික විද්‍යා**

**071 - 69 82979**

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ

11






වර්තමානයේ වස විස භාවිතය ගැන සර්වාකාරයෙන් විග්‍රහ කරන්න ගියොත් මේ ලිපි පෙළ කෙළවරක් වෙන්නෙ නෑ. ඒතරම්ම වස විස භාවිතයෙන් ජන ජීවිතය වෙලාගෙන තියෙන්නෙ. ඒ නිසා මේ වෙනකොට වස විස ඔඩු දුවපු ප්‍රධාන පැතිකඩවල් කිහිපයක් ගැන හෙළිදරව් කරල, ඒ ඔස්සේ ඉතිරි කාරණා පිළිබඳවත් දැනුවත් වෙන්න පුළුවන් විදිහට තමයි මේ ලිපි පෙළ ඉදිරිපත් කරන්නෙ. ඉතිං මේ වෙනකොට ඒ වගේ පැතිකඩවල් ගණනාවක් මේ ලිපි පෙළින් හෙළිදරව් කරල තියෙන නිසා, තවත් ඉතිරි වෙලා තියෙන ප්‍රධාන කාරණා කිහිපයක් ගැන පමණක් හෙළිදරව් කරල, ඊළඟ පියවර විදිහට වස විසට එරෙහි විකල්ප කිහිපයක් හඳුන්වා දීල මේ ලිපි පෙළ අවසන් කරන්නයි බලාපොරොත්තුව.

මස් මාංශ ගැන පැහැදිලි ධර්මානුකූල විග්‍රහයක් මේ සඟරාවේ මීට පෙර 9, 10, 11, 12 කලාප තුලින් ඉදිරිපත් කළා. ඒ අනුව වර්තමානයේ වෙළඳසැල්වල විකුණන්න තියෙන පාංශුකූල නොවන (නොපවත්ත) මස් මාංශ හෙවත් අසාධාරණයෙන් සකස් කරගත් මස් මාංශයෙන් වැළකීමේ ධර්මානුකූල වැදගත්කමත් පෙන්වා දුන්නා. කොහොම නමුත් මස් මාංශ අනුභව කරන පිරිස් ඉන්න නිසා ඒ ධර්මානුකූල අදහසට අමතරව වස විස ගැනත් පවතින තත්ත්වය පැහැදිලි කිරීම වැදගත්.

සතෙක් මරණයට පත් වෙච්ච මොහොතේ පටන් ඒ සතාගෙ මාංශයට ඔක්සිජන් වායුව ලැබීම නතර වෙනවා. ඒ නිසා රුධිරයේ තියෙන රතු වර්ණයට හේතු වෙන රක්තානුවල පැහැය ක්‍රමයෙන් අඩු වෙලා යනවා. එතකොට මතු පිටින් දිස්වන පැහැය නිසා ඒ මස් මාංශ නරක් වෙච්ච ස්වභාවයක් ගන්නවා. ඒ කාරණය පාරිභෝගිකයන් ආකර්ශනය කර ගැනීමේදී වෙළෙන්දන්ට ගැටළුවක් වෙනවා. මොකද තද රතු පාටට නැවුම් ගතියකින් තියේ නම් තමයි පාරිභෝගිකයන් ඒවා මිලදී ගන්න පෙළඹෙන්නෙ. මේ නිසා සමහර මස් මාංශ කර්මාන්තකරුවන් ඒ රතු පැහැය ඒ විදිහටම පවත්වාගෙන යන්න නයිට්‍රේට් වර්ග යොදා ගන්නවා. ඒ සඳහා බොහෝ කොටම යොදන්නෙ බතික් කර්මාන්තයෙදි රෙදි වර්ණ ගන්වන්න යොදාගන්න රසායනික ද්‍රව්‍ය. ඒ නිසා මස් මාංශවල රතු පැහැය, දැකුම්කළු ස්වභාවය දීර්ඝ කාලයක් පවතින්න හේතු වෙනවා. ඒ රතු පැහැය දකින පාරිභෝගිකයන් නැවුම් මස් මාංශ කියල හිතල ඒවා මිලදී ගන්නවා. තද රතු පාට බුන්දිවලටත් ඔය කියන රසායන තමයි බොහෝ කොටම යොදා ගන්නෙ. වතුරට දාල හොඳින් දිය කරල බැලුව නම් ඒ කාරණය දැකගන්න පුළුවන්. ඒක තනිකරම පිළිකා කාරකයක්.

විශේෂයෙන් වර්තමානයේ යම් කිසි ක්‍රමවේදයක් ඔස්සේ කෘතීමව සකස් කරන මස් මාංශ සඳහා නයිට්‍රේට්වලට අමතරව මොනසෝඩියම් ග්ලූටමේට් වගේ රසකාරකත්, කල් තබා ගැනීමේ කෘතීම කාරකත් එකතු කරනවා. ඒවා මිනිස් සිරුරට ඉතා අහිතකර පිළිකා කාරක. විශේෂයෙන් සමහර සුපිරි වෙළඳසැල්වල රාක්කවල ඉතා අලංකාර විදිහට ආවරණය කරල ප්‍රදර්ශනය කරල තියෙන මස් මාංශවලට පාරිභෝගිකයන් නිරායාසයෙන්ම ඇදිල යනවා. සමහර අවස්ථාවල ඒ ආවරණයේම පසුපස කුඩා කොටුවක් තුල කුඩා අකුරුවලින්, අදාළ මස් මාංශ නිෂ්පාදනයේදී යොදා ගත් ද්‍රව්‍ය පිළිබඳ සටහනකුත් තියෙනවා. කොන්ත්‍රාත් ක්‍රමයට ඒවා මිලදී ගන්න නිසා වෙළෙඳසැල් හිමියොත් ඒවා දැන හෝ නොදැන අලෙවි කරනවා. නමුත් පාරිභෝගිකයන් ඒ පිළිබඳව සැළකිල්ලක් දක්වන්නෙ නෑ. පිට ආවරණයයි, මතුපිට පෙනීමයි ලස්සන නිසා ඒවා මිලදී ගන්නවා. ඒ විදිහට මිලදී ගෙන අනුභව කරන්නෙ, තමන් ඇතුළු පවුලේ උදවියගෙ ශරීරය ලෙඩ කරල ආයුස අඩු කරන පිළිකාකාරක බව ඒ අය දන්නෙ නෑ. ඒ නිසා මේ වගේ ආහාර මිලදී ගන්නකොට මේ රසායන ද්‍රව්‍ය ගැනත් විශේෂයෙන් සැළකිලිමත් වෙන්න ඕන.

තේ පානය කියන්නෙ බටහිර ජාතීන් අපිට හඳුන්වා දීපු පානයක්. ඊට පෙර අපේ පැරැන්නන් තේවලටත් වඩා ගුණදායක පානයන් පාවිච්චි කළා කියන කාරණය වෙනම කතාවක්. බෙලිමල්, රණවරා, පොල්පලා... වගේ ඒ ඒ පරිසරයන්ට ගැලපෙන ඖෂධීය පානයන් කිහිපයක්ම එදා තිබුනා. ඊට පස්සෙ ඉංග්‍රීසි ජාතිකයන්ගෙ පැමිණීමත් සමග රැල්ලක් වගේ ආරම්භ වුන තේ පානයට අපේ රටේ ජනතාව කොච්චර ඇබ්බැහි වෙලාද

කිව්වොත්, උදේට නැගිට්ට වෙලේ පටන් රෑ නින්දට යනකල්ම තමන්ගෙ කායික මානසික විඩාව දුරු කරගන්න තේ කෝප්ප 5 - 6 ක්ම ගිල දැමීම සාමාන්‍ය සිරිතක්. හැබැයි මීට හුඟක් ඉස්සර කාලයේ ගෙදරක තේ කෝප්පයක් හදනකොට හමන නැවුම් සුවඳ ගැන ඔබට මතක ඇති. ඒ වගේම ඒ තේවල තිබිච්ච ප්‍රණීත රසයත් තවම අපේ මතකයෙන් ගිලිහිලා නෑ. ඒ නැවුම් සුවඳ හෝ ප්‍රණීත රසය හෝ තණ්හාවෙන් උපාදාන කරගන්න කියන එක නෙවෙයි මේ කියන්නෙ. නමුත් ස්වභාවික තේවල නැවුම් ප්‍රණීත රසයත් ගුණාත්මක බවත් තියෙනවා. ඒ ඔස්සේ යම් කිසි ප්‍රත්‍යයක් ශරීර පැවැත්මට ලැබෙනවා.





කොහොම හරි එදා එහෙම ස්වභාවයක් තිබිච්ච තේ කොළ වෙනුවට අද කසල තේවලට අළු හුණු, කොන්ඩිස් වගේ වස විස යොදල වර්ණ ගන්වපු තේ කොළ වෙළඳපොලේ බහුලව තියෙනවා. තේ කහටවල වර්ණය ක්ෂණිකව ගන්න තමයි කුට වෙළෙන්දො ඒ විදිහට අළු හුණු පදම් කරල ගත්ත වතුරෙන් හදපු තේ කොළ, එහෙම නැත්නම් කොන්ඩිස් කැට හෙවත් පොටෑසියම් ප(ර්)මැංගනේට් කියන වර්ණකය එකතු කරල හදපු කසල තේ ප්‍රසිද්ධ වෙළඳ නාම උපයෝගී කරගෙන අඩු මුදලකට පාරිභෝගිකයන්ට විකුණන්නෙ.

ඉස්සර තිබුනෙ තේ කොළ. දැන් තියෙන්නෙ තේ කුඩු. ඉතිං කුඩු වශයෙන් තිබුනම වස විස එකතු කරන්න තවත් ලේසියි. ඒ වගේ තේවල කිසිම සුවඳක් නෑ. තේ හදනකොට ඉස්සර තිබිච්ච නැවුම් සුවඳ නෑ. ඒ ප්‍රණීත රසය නෑ. ඒ වගේම සමහර කුඩා ක්ෂණික තේ මළු (Tea Bags) උණු වතුරට දානවත් එක්ක ක්ෂණිකවම දුමාරයක් වගේ ජලය තුල විසිරෙනවා දැකගන්න පුළුවන්. ඒ පැහැදිලිවම කෘතීම වර්ණක, අළු හුණු... ආදී විස එකතු කරල හදපු තේ කුඩු. ස්වභාවික තේ නම් එහෙම ජලය තුල දුමාරයක් වගේ ක්ෂණිකව විසිරෙන්නෙ නෑ. ඇහැට පෙනෙන නොපෙනෙන මට්ටමට ක්‍රමානුකූලව තමයි ජලය තේ කහට පැහැය ගැන්වෙන්නෙ. ඒ නිසා තමයි ඉස්සර තේ හදනකොට තේ කොළ ටිකට උණු වතුර දාල ටික වෙලාවක් තැම්බෙන්න වහල තියන්නෙ. නමුත් දැන් උණු වතුර ටික දානවත් එක්කම කහට පැහැ ගැන්විලා ඉවරයි. ඒ නිසා මේ වගේ තේ කුඩු අරගෙන ශරීරය ලෙඩ කරගන්නෙ නැතිව, තමන්ට සැක හැර දැනගන්න පුළුවන් පිළිගත්තු තැනකින් තේ කොළ හෝ තේ කුඩු මිලදී ගන්න සැළකිලිමත් වෙන්න ඕන.

ඒ වගේම මේ අළු හුණු ගැන කතා කරනකොට දැන් සමහර වෙළෙන්දො වෙළඳපොලේ තියෙන හාල් පිටිවලටත් අළු හුණු මිශ්‍ර කරනවා. එක පැත්තකින් වියළි බර වැඩි කරගන්නත්, අනිත් පැත්තෙන් ගුල්ලො නොගහ තියාගන්නත් තමයි එහෙම කරන්නෙ. ඒ වගේ හාල් පිටිවලට වතුර දාල අතින් අනන කොට අත රත් වෙනවා. ඒ අර අළු හුණු නිසා.

ඊළඟට මිරිස් කුඩු, කහ කුඩු, තුනපහ... ආදී කුළු බඩු ගත්තත් අද වෙනකොට විවිධ වර්ණක, කල් තබා ගැනීමේ රසායන එකතු කරපු ඒව තමයි බොහෝ කොටම වෙළඳපොලේ විකුණන්න තියෙන්නෙ. රතු මිරිස් කරල් වශයෙන් මිලදී ගන්නවට වඩා කුඩු වශයෙන් මිලදී ගන්නකොට යම් කිසි අවදානමක් තියෙනවා. මිරිස් කුඩුවල අව පැහැයක් තියෙනව නම් ඒවා එක්කො පරණ වෙන්න පුළුවන්, එහෙම නැත්නම් මොනවහරි ජරාවක් එකතු කරල තියෙන්න පුළුවන්. සමහර වෙළෙන්දො ගඩොල් කුඩු, රතු හාල් කුඩු, ලී කුඩු, පාන් පිටි වගේ දේවල් මිරිස් කුඩුවලට කලවම් කරනවා. ඒ මිරිස් කුඩු අතින් අල්ලල බලනකොට රළු වැලි ගතියක් වගේ අතට දැනෙනව නම් මොනව හරි කලවම් කරල තියෙන්නෙ. නමුත් විවිධ රසායන වර්ණක කලවම් කරල තිබුනොත් ඒක පිටින් අඳුන ගන්න බෑ. ඒ සඳහා රසායනාගාර පරීක්ෂණයක් කරන්න වෙනවා. හොඳ මිරිස් කුඩු නම් අත ගාල බලනකොට වියළි ගතියක් සහ සියුම් බවක් දැනෙනවා. ඒ වගේම මේ මිරිස් කුඩු, කහ කුඩු කියන ඒවා සාම්පලයක් අරගෙන ජලයට දාල දිය කරල බලනකොට රතු හෝ කහ පැහැය එක පාරටම එනව නම් ඒවාට මොනව හරි රසායන ද්‍රව්‍ය යොදල තියෙන්න පුළුවන් බවත් තේරුම් ගන්න ඕන. පිරිසිදු ඒවා නම් ක්‍රමානුකූලව ඒ ද්‍රව්‍ය අවක්ෂේප වෙලා තමයි අදාළ පැහැය ගන්නෙ. ඒ වගේම කහ කුඩු අසාමාන්‍ය විදිහට කහ පාට නම් ඒවාට කෘතීම වර්ණක මිශ්‍ර කරල තියෙන්න පුළුවන්. ඒ වගේ අවස්ථා පසුගිය කාල වකවානුවල වාර්තා වෙලා තියෙනවා.

ඒ වගේම තමයි කොත්තමල්ලි, සූදුරු, මාදුරු වගේ තුනපහවලටත් බර වැඩිවෙන්න කියල සමහර වෙළෙන්දො රොඩු, නැටි, ගල් වගේ දේවල් එකතු කරනවා. ඒ නිසා ඒ වගේ දේවල් මිලදී ගත්තට පසු හොඳින් හෝදල වේළල ගන්න ඕන. ඒ වගේම සමහර කුට වෙළෙන්දො තුනපහවලට බැදපු හාල් පිටි එකතු කරනවා. එතකොට ඒක ලේසියෙන් හොයා ගන්න බෑ. ඒ සඳහා පැහැය සහ සුවඳ ගැන හොඳ දැනුමක් තියෙන්න ඕන.

කුරුඳුවලට වුනත් දැන් කල් තියාගන්න කියල සමහරු රසායන එකතු කරනවා. ඒ රසායන නිසා කුරුඳු බරින් වැඩි වෙලා දිරන්නෙ නැතිව කාලයක් තියාගන්න තමයි එහෙම කරන්නෙ. ඒ නිසා මේ වගේ කුළු බඩු මිලදී ගන්නකොට ඉතා පිරිසිදු විශ්වාසදායක තැනකින් ගන්න ඕන. එහෙම තැන් නැත්තෙ නෑ. සෞඛ්‍ය සම්පන්න ශරීරයක් පවත්වගන්න අපේ මේ පැරණි කුළු බඩුවලින් විශේෂ ඖෂධීය ගුණ බොහොමයක් ලැබෙනවා. නමුත් දැන් ඒකටත් කණකොකා හඬලල තියෙන නිසා ඒ ගැනත් සැළකිලිමත් වෙන්න ඕන.

ඊළඟට දැන් වෙළඳපොලේ විකුණන්න තියෙන වේළිච්ච රතු මිරිස්, කැලි මිරිස්, මිරිස් කුඩු කියන ඒවත් බොහෝ කොටම විවිධ රසායන යොදල විදෙස් රටවලින් එන මිරිස්වලින් හදන්නෙ. මේ කියන්නෙ යාපනය, රාජාංගණය, දඹුල්ල...

ආදී ප්‍රදේශවල වවන අපේ දේශීය රතු මිරිස් ගැන නෙවෙයි. ඒවායේ ගැටළුවක් නෑ. ඒ මිරිස් සනකමයි. නමුත් ඒවා අපිට එන්නෙ නෑ. විවිධ අතරමැදියො ඒවා අරගෙන මිශ්‍ර කරනවා. එහෙම නැත්නම් අස්වැන්න බොහොම ටිකයි. වෙළෙඳපොලේ වැඩිපුරම තියෙන්නෙ විදෙස් රටවලින් එන රතු මිරිස්. ඒවායින් තමයි කැලි මිරිස් සහ මිරිස් කුඩු හදන්නෙ. එතකොට මේ වෙළෙඳපොලේ තියෙන රතු මිරිස් කියන්නෙ අපේ දේශීය මිරිස් වගේ ගුණදායක දෙයක් නෙවෙයි. ඒවායේ ගුණ බොහෝ කොටම හීනයි. ඒ වගේම ආහාර මාර්ගයේ විවිධ ආබාධ ඇති කරන්නත් හේතු වෙනවා. නමුත් මිනිස්සු රතු පාටට කැමති විඥ්ඥාණයක් හදාගෙන තියෙන නිසා හොද්දෙ පාට නැත්නම්, පොල්සම්බෝලෙ පාට නැත්නම්, ලුණු මිරිසෙ පාට නැත්නම් ඒක ආහාරයට ගන්න මැළිකමක් දක්වනවා. හැබැයි හොඳට බැලුවොත්, මේ පිට ඔපයට රැවටිලාම තමයි මිනිස්සු විනාස වෙන්නෙ.

මේ කියන රතු මිරිස්වල අපේ දේශීය මිරිස් වගේ සුවඳක් නෑ, රසයක් නෑ, ගුණයක් නෑ, පාට විතරයි. නමුත් අමු මිරිස්, කොච්චි මිරිස්, නයි මිරිස්, එඬේර මිරිස්, පෙට්ටි මිරිස්, ගම්මිරිස් වගේ අපේ දේශීය මිරිස් වර්ගවල රසය, ඖෂධීය ගුණය, සුවඳ මේ සියල්ලම අඩු නැතිව තියෙනවා. හොඳට බලන්න ගෙදර කොච්චි සම්බෝලයක් හදනකොට එන සුවඳ අර කියන රතු මිරිස්වලින් හදන සම්බෝලයක තියෙනවද කියල. ඒ වගේමයි ඒ රසයත් නෑ. ඉතිං පිට ඔපයට රැවටෙන්නෙ නැතිව මේ වගේ දේශීය මිරිස් වර්ග යොදාගෙන සම්බෝලයක්, ලුණු මිරිසක්, හොද්දක් හදාගෙන කනව නම් ශරීරයේ විස නැසීමේ බලයකුත් ඒකෙන් ලැබෙනවා. මේ දේශීය මිරිස් වර්ගවල ආහාර අවශෝෂණය පහසු කරවන, අක්මාවේ ක්‍රියාකාරීත්වය පහසු කරවන, ස්නායු දුර්වලතා මග හරවන විශේෂ ගුණ තියෙනවා. ඒ වගේ මිරිස් පැළයක් දෙකක් ගෙදරක වුනත් හදාගන්න බැරිකමක් නෑ. ඒ වගේම කම්මැලිකමටම වෙළඳසැල්වලින් කැලි මිරිස්, මිරිස් කුඩු මිලදී ගන්නෙ නැතිව මිරිස් කරල් වශයෙන් අරගෙන හොඳට හෝදල වේළල අවශ්‍ය විදිහට සකස් කර ගන්නව නම් අර හානිය තරමක් හරි අවම කරගන්න පුළුවන්.

ඊළඟට ලංකාවේ දිනකට වැඩියෙන්ම අනුභව කරන ව්‍යංජනයක් විදිහට රතු පරිප්පු හඳුන්වා දෙන්න පුළුවන්. හැබැයි ඉස්සර ගෙදරක පරිප්පු හොද්දක් ඉදෙන කොට එන නැවුම් සුවඳ දැන් නෑ. මොකද දැන් තියෙන පරිප්පු ජාන තාක්ෂණයෙන් විකෘති කරල හදන්නෙ. ඒ කාරණය මනුස්ස ශරීරයේ සෛලවල විකෘතිතා හට ගන්නත් හේතු වෙනවා. ඒ වගේම දැන් තියෙන පරිප්පුවලට ඉස්සර වගේ ගුල්ලො ගහන්නෙ නෑ. මොකද ගුල්ලන්ගෙන් ආරක්ෂා කරගෙන කල් තියාගන්න විස රසායන එකතු කරනවා. මේ පරිප්පු විදේශයෙන් ගෙන්වනකොටත් කාලයක් යනවා. ඊට පස්සෙ මෙහේ තියාගෙන විකුණන්න තවත් කාලයක් යනවා. එතකොට මේ කාල සීමාවෙදි ඒවා රැකගන්න, ඒ වගේම බර වැඩිවෙන්න, රසය වැඩි වෙන්න ඔය වගේ විස රසායන එකතු කරනවා. සත්ත්ව ආහාර කල් තබාගන්න යොදන විස රසායන තමයි බොහෝ කොටම යොදන්නෙ. ඒ විස නිසා තමයි ඒ පරිප්පු හෝදනකොට අධික ලෙස පෙණ දාන්නෙ. පෙණ දානවයි කියන්නෙ එතන මොනව හරි වායු නිෂ්පාදනය වීමක් සිද්ධ වෙනව කියන එක. ඒවා ආහාරයට ගත්තම අක්මාව රෝගී කරන්න විශේෂයෙන් බලපානවා. ඊට අමතරව බඩවැල්වල තුවාල ඇති කරනවා, රුධිර පීඩනය වැඩි කරනවා. ඒ නිසා විශේෂයෙන් මේ රතු පරිප්පු ආහාරයට ගන්නවනම් 4 - 5 වතාවක්වත් හොඳින් හෝදල ගන්න ඕන. දෙහි ඇඹුල් ටිකක්, ස්වභාවික විනාකිරි බිංදු 2 - 3 ක් සමග ලුණු ටිකක් මිශ්‍ර කරල හොඳින් සෝදගන්නව නම් එක්තරා ප්‍රමාණයකින් හෝ ඒ විස ඉවත් කරගන්න පුළුවන්.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සමාධිමය අත් බෙහෙත්...

චරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී බෙහෙත් සමාධියෙන් මතු කර ගත් තවත් ප්‍රත්‍යක්‍ෂ අත් බෙහෙත් කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. ස්වභාවික අමුද්‍රව්‍ය යොදාගෙන වැඩි වියදමක් නැතිව හදා ගන්න පුළුවන් මේ බෙහෙත්, කිසිම අතුරු ආබාධයකින් තොර නිසා හැමදෙනාටම පාවිච්චි කරන්න පුළුවන්. නමුත් මීට පෙරත් සඳහන් කළා වගේ, ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තීන්ට යටත්ව මේ සියළු බෙහෙත් ප්‍රත්‍ය වෙන බව සළකන්න ඕන.



### 1. හිසේ තැල්මට තෙලක්

කළුදුරු කලං 6 යි, පල්මානික්කම් අළු කලං 1 යි (පල්මානික්කම් කැට කුඩා කෝවක දමා පුච්චා ගැනීමෙන් පසු එන අළු), එඬරු ඇට මද කලං 12 යි, පිරිසිදු තල තෙල් බෝතල් 1/8 යි, පිරිසිදු පොල්තෙල් බෝතල් 1/2 යි, මුරිසි අන්නාසි බොඩ කලං 12 යි අරගෙන සම පාකයට හිඳගෙන සති 4 ක් හිසට දමන්න.

### 2. බඩේ අමාරු සඳහා

තිප්පිලි, රසකිඳ පිටි, ඉරිවේරිය දඬු, කලාඳුරු අල මී පැණියෙන් අඹරගෙන ගුලි කරගෙන දවල් සහ රාත්‍රී ආහාරයට පෙර ගන්න.

### 3. පණු අමාරු සඳහා

තිප්පිලි මුල්, බෙහෙත් ගොටු කොළ, අසමෝදගම් (සම්පූර්ණ ගස් හෝ අසමෝදගම් ඇට), පෙරුංකායම්, බෙලි මුල්, ඉරිවේරිය කියන අමුද්‍රව්‍ය කලං 2 බැගින් අරගෙන පත 8 - 1 ට හිඳගෙන ඊට අරළු, බුළු, නෙල්ලි කුඩු දමා ගුලි කරගෙන වේළගෙන දිනකට මදටිය ඇට 1/2 ක ප්‍රමාණයක් බැගින් ගන්න.

### 4. රක්ත උෂ්ණයට - මුස්වැන්න කැඳ

මුස්වැන්න ගහේ සුදු පාට කොළය ඉවත් කරල කොළ පාට කොළය අරගෙන, ඊට දෙහි කොළ, සුදු ළූණු, රතු ළූණු සහ සියඹලා දල්ලක් දමා කැඳ සාදා ගන්න.

### 5. සෙම්, පිත් උෂ්ණ කර ඇඟ උණු කරන රෝග නැසීම සඳහා

රසකිඳ පිටි කලං 12 යි, පත්පාඩගම් කලං 12 ක් දමා වතුර පත අට එකට හිඳ ගත් දියර සමග නෙල්ලි කලං 12 යි, එළගිතෙල් අවුන්ස 2 යි. මේ සියල්ල එකට දමා අඹරගෙන අව්වෙ තියල කල්ක කරල තියාගෙන දින 15 ක් උදේට තේ හැඳි 1 බැගින් ආහාරයෙන් පසු ගන්න.

### 6. උෂ්ණ දුරු වීම සඳහා

වේළිච්ච නෙල්ලි ග්‍රෑම් 100 ක් (ඇට සහිතව හෝ රහිතව), රසකිඳ පිටි ග්‍රෑම් 100 ක්, සුදුරු ග්‍රෑම් 100 ක්, පිරිසිදු මී පැණි බෝතල් 1/8 ක්, එළගිතෙල් බෝතල් 1/8 ක්. (වේළිච්ච නෙල්ලි කොටාගෙන අඹර ගන්න අමාරු නම්, පොට්ටනියක් බැඳල වණ්ඩුවේ දාල ගත්තම මොළොක් වෙලා කොටා ගන්න පහසු වෙනවා.) මේ සියල්ල එකට දමා අඹරගෙන තිබ්බටු ගෙඩි පමණට ගුලි කරගෙන උදේට 1 බැගින් මාස එකහමාරක් ගන්න.

### 7. කුෂ්ට රෝග සඳහා තෙලක්

නා ඇට, කදුරු ඇට, කජු ගහේ පොතු, කාමරංග, බිම් කොහොඹ මුල්, ඉරිවේරිය දඬු කලං 6 බැගින් අරගෙන කොටාගෙන උණු වතුරෙන් මිරික ගන්න. ඉන්පසු එඬරු තෙල්, පිරිසිදු පොල්තෙල් බෝතල් 1/2 බැගින් අරගෙන සියල්ල මිශ්‍ර කරගෙන ලිපේ තියල හිඳෙන කොට වියළි ඉඟුරු, කළුදුරු, සුදු ළූණු, එළවරා මුල්, පස් පැඟිරි පොතු, වසාවාසි කලං 6 බැගින් දමා සමපාකයට හිඳගන්න. කුෂ්ට රෝගවල උදේ හවස ගල්වන්න.

### 8. පසුගිය කලාපයේ සඳහන් කළ අධි රුධිර පීඩනය සමනයට හඳුන්වා දුන් බොන බේතෙන් පසුව පපුවේ ගෑම සඳහා තෙලක්

කුඩු මිරිස් මුල් (කැලේ වැවෙන මිරිස් වර්ගයක්), හීන් හාතවාරිය අල, ඇත්දෙමට පොතු, රතු පාට ගුරු ගල් කැට, අමු ඉඟුරු, නාමල් රේණු කලං 6 බැගින් අරගෙන පිරිසිදු පොල් තෙල් බෝතල් 1/2 යි, මී තෙල් බෝතල් 1/4 යි, බේත් ගොටුකොළ ග්‍රෑම් 250 ක් කොටා මිරික ගත් ඉස්ම බෝතල් 1/2 යි.

මේ සියල්ල මැටි බඳුනක දමා පැය 8 කින් හිඳෙන විදිහට ගින්දර දමා මණ්ඩිය වේළිච්ච පදමට එනකොට ලිපෙන් බාගෙන බඳුනේ තියෙද්දිම සීතල වෙන්න ඉඩ හැරල බෝතල්වලට පෙරා ගන්න. ඉන්පසු පසුගිය කලාපයෙන් සඳහන් කළ බේත් පානය කර විනාඩි 5 කින් පසු පපුවේ ඉදිරිපස හැම තැනම තෙල් ගා හොඳින් පිරිමදින්න. මේ බේත් වර්ග 2 පාවිච්චි කිරීමෙන් පසු ලේ ගමන ප්‍රකෘතිමත් වෙනවා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 70 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ අමිල සල්ගාදු මහතා - බෝමිරිය ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ මෙරිල් ප්‍රනාන්දු මහතා - ගන්තුනේ ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ සහ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමන්ලා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

## මූල්‍යමය දායකත්වය

■ පතිරගේ ඉන්දික පෙරේරා මහතා, තත්‍යානා යුරේව්නා මහත්මිය, පතිරගේ ආනාෆ්‍යා පෙරේරා සහ පතිරගේ පොලීනා පෙරේරා යන දියණියන් - නැදිමාල - රු. 70,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ කේ. ක්‍රිෂ්ණවේනි මහතා ඇතුළු පවුලේ සැම - කුලසිරිගම, අම්පාගල - රු. 10,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ පද්මිණි සමරවීර මහත්මිය - කලල්පිටිය, පස්යාල - රු. 5,000/- ■ උදේශි සමරවීර මෙනවිය - කලල්පිටිය, පස්යාල - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - මෙල්බන් නුවර - රු. 3,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 3,000/- ■ එල්. ෆොන්සේකා මහත්මිය - බොරැල්ල - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥාමූර්ති හිමි - රු. 2,200/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ සංජය රණවීර මහතා - මහරගම - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ■ නැසී ගිය ඒ. පී. රණතුංග මහතාට පිං පිණිස වසන්තා වික්‍රමසිංහ මහත්මිය - පානදුර - රු. 2,000/- ■ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 2,000/- ■ ඉෂාන් විමුක්ති දසනායක පුතා - උඩුවන - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ ටී. ඩී. චරිත් සඳරුවන් මහතා - මුල්ලේගම - රු. 2,000/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,680/- ■ පී. රුවීනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ කේ. එම්. කේ. ඩග්ලස් පෙරේරා මහතා සහ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් මහතා - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ සම්පත් රාමනායක මහතා සහ නෙරංජලා රාමනායක මහත්මිය - ජාඇල - රු. 1,500/- ■ පූජ්‍ය වලපනේ සාසනරතන හිමි - රු. 1,200/- ■ කරුණාතිලක මහතා ඇතුළු දොඩම්ගොඩ ප්‍රදේශවාසීන් - රු. 1,200/- ■ පූජ්‍ය නාමල්දෙණියේ විජේදේව හිමි - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ කේ. රත්නා චාන්දනී මහත්මිය ඇතුළු පවුලේ සැම - ඉතාලිය - රු. 1,000/- ■ ගයාන් ගුණරත්න මහතා ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී. ඩී. ඩබ්. සෝමරත්න මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ චන්ද්‍රසේන ඉලේසිංහ මහතා සහ දයා ඉලේසිංහ මහත්මිය - නිට්ටඹුව - රු. 1,000/- ■ උභයවර්ධන මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ ප්‍රියන්ති අබේසිංහ මහත්මිය - නාත්තන්ඩිය - රු. 1,000/- ■ වික්ටර් පෙරේරා මහතා - කැලණිය - රු. 1,000/- ■ යෙහානි හිරිපිටිය මෙනවිය - පිටිපන - රු. 1,000/- ■ පී. ඒ. කේ. පෙරේරා මහත්මිය - පොල්ගහවෙල - රු. 1,000/- ■ එස්. එම්. ප්‍රේමරත්න මහතා සහ පී. ඒ. ඥානවතී මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ කල්‍යාණි ලියනගේ මහත්මිය - හොරණ - රු. 1,000/- ■ බන්දුලසේන මහතා, එම්. ඒ. රේණුකා ප්‍රියදර්ශනි මිය, ජේපින් නෝනා මිය, සශික පුතා, සෙව්මිණි පුතා - හබරකඩ - රු. 1,000/- ■ සමන්ති අමරසිංහ මහත්මිය - රණාල - රු. 1,000/- ■ තුසිත ජයවික්‍රම මහතා - පයාගල - රු. 1,000/- ■ රෝහිණී චන්ද්‍රිකා වීරසූරිය මහත්මිය සහ හෙසඳ සත්කුමාර පුතා - කුරුණෑගල - රු. 1,000/ ■ ඒ. ඒ. කෞෂානි සකුණිකා ප්‍රේමතිලක දුව - රදාවාන - රු. 1,000/- ■ චාන්දනී මහත්මිය - කුඹුරුගමුව - රු. 1,000/- ■ ඒ. කේ. සුමනාවතී මහත්මිය - ගොඩකවෙල - රු. 1,000/- ■ ස්වර්ණා සෝමරත්න මහත්මිය - දඹුටුව - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම -

වැලිපැන්න, එම්. එස්. ගුණවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - කොළඹ 10, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, ඩබ්. ඩී. අයි. රූපිකා මහත්මිය - බැද්දගාන, එරන්දතී සඳසිලි මහත්මිය - නිට්ටඹුව, නුෂිකා නේත්‍රාංජලී දුව - කුරුණෑගල - එකතුව - රු. 5,400/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 275,680/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 367,340/- ■ අනෙකුත් වියදම් - 18,350/- ■ සම්පූර්ණ වියදම - රු. 385,690/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු 25.71/- ■ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිර පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676 (2) හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071-2404242, 072-2404242 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ 071826 1500 / 0662245353 (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) ඒකනායක මන්තින්දාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 - 541 64 61 / 081 - 20 57 572 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රැස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ - 07777225331 (25) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (26) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (27) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (28) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 0772717514 (29) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649 (30) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677 (31) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 0712136329 (32) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 0755863883, 0552250051 (33) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (34) සෙනරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (35) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 0714569500 / 0353222220 (36) අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 0757246797 (37) උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 - 77 22 531 (38) ශෛල පබ්බතාරාමය, ගිජිදාගම, පොල්ගහවෙල 071 - 212 5880

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

**ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.**

# නිවැරදි බුදු මග | අනුගමනය කිරීමට...



| | |
|---|---|
| **ආර්ය ප්‍රඥාව**<br>සම්මා ඥාන / සම්මා විමුක්ති | නළල් තලයේ පටන් හිස් මුදුනට වටිනා ලෙස සිහි කරන්න. |
| **ආර්ය සමාධිය**<br>සම්මා වායාම / සම්මා සති / සම්මා සමාධි | ඇස් මට්ටමේ පටන් නළල් තල මට්ටමට වටිනා ලෙස සිහි කරන්න. |
| **ආර්ය සීලය**<br>සම්මා වාචා / සම්මා කම්මන්ත<br>සම්මා ආජීව<br>**ආර්ය ප්‍රඥාව**<br>සම්මා දිට්ඨි / සම්මා සංකප්ප | පපු මට්ටමේ පටන් ඇස් මට්ටමට වටිනා ලෙස සිහි කරන්න. |
| **දස අකුසලයෙන් වැළකීම**<br>මිත්‍යා දෘෂ්ටි / ව්‍යාපාද<br>අභිද්‍යා / සම්පප්‍රලාප<br>පිසුනා වාචා / පරුසා වාචා<br>මුසාවාද / කාම මිත්‍යාචාර<br>අදත්තාදාන / ප්‍රාණ ඝාත | දණහිස පටන් පපු මට්ටමට වටිනා ලෙස සිහි කරන්න. |
| **සියලු සාසනික පින්කම්** | වළලුකර පටන් දණහිස මට්ටමට වටිනා ලෙස සිහි කරන්න. |
| **සියලු පෘතජ්ජන පින්** | පතුලේ පටන් වළලුකර දක්වා වටිනා ලෙස සිහි කරන්න. |
| **සියලු අකුසල්** | පා පෑගෙන දූවිල්ලක් සේ පහ කළ යුත්තක් ලෙස සිහි කරන්න. |

ඉහත තත්ත්ව අතරින් ඔබ වැඩිපුරම භාවිතා කරන්නේ කුමන තත්ත්වයද යන්න සිහි කර බලා
ඉන් උසස් තත්ත්වයට පැමිණීමට කටයුතු කරන්න.
බුදු මග යන බොදුනුවන් තම තමන්ගේ අවබෝධයේ පමණ සිහි කර බලා
අප්‍රමාදව නිවන් මග පූර්ණ කරගැනීමට අධිෂ්ඨාන කරගන්න.

**බුදු මග යන සැමට නිවන් සුව අත්වේවා!**
**පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් වහන්සේගේ අනුසාසනයක් ඇසුරිනි.**

# මහ රහතුන් වඩියි
# යළි දම් දෙරණ පුරා

| | |
|---|---|
| වහරක සමිඳ සසරෙහි තුම් පැතුම | දරා |
| පහනක් වීය ලෝ සත හට අඳුර | ඉරා |
| අහගත් දහම් කඳ ගෙන සව් සතුන | කරා |
| මහ රහතුන් වඩියි යළි දම් දෙරණ | පුරා |
| | |
| පිරි නිවි සමිඳ නැවතුන තැන යළිදු | නගා |
| විරියෙන් පුරන සඟ සත වෙත වෙනව | ළඟා |
| හරි දම් මගම යන සව්වන් දෙදණ | ගගා |
| අරි සව්වන් බවට හරවයි මැදද | නිගා |
| | |
| බුදුන් වැඩ සිටිය එදවස ලෙසට | මෙදා |
| සඟුන් මහ පතුරවති අම දහම | සදා |
| එවන් බණ අසාගෙන මග එලද | වදා |
| සවන් සනසනා දම් දෙති සතට | බෙදා |
| | |
| කල තවත් නොබල ලද සැණ ගෙනම | සැදී |
| නොලද අනත සසරෙහි දම් වෙතම | ඇදී |
| මළ කෙලෙස් දවන්නට හැම විටම | බැඳී |
| එල මහත් ලබා ගනු ඉන් මෙලොව | හිඳී |
| | |
| පරපුරෙන් පැවත එන ගල් ලෙන්ද | ඈරේ |
| දිර කඩන්ව ගිය තැන් පිළිසකර | කෙරේ |
| හරසරින් කෙරෙන වැඩ ඇති අතර | තුරේ |
| අරහතුන් බිහිව දම් දිවයිනම | පිරේ |
| | |
| බුදු විවරණ මැදින් පැතුමන් ලද | පෙරදී |
| මුදු ගුණයෙන් සුසැදි තෙරවරු ඇත | උරදී |
| පොදු මහත් සතට පෙන්වා ලොව | වැරදී |
| නිදුකින් ඉන්න මග පෙන්වති මරු | පැරදී |

පබැඳුම - නීතිඟද චන්දන සිරිවර්ධන



1070 Rs.25.00
Hela Bodhu Piyuma 70

නීතිඟද චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.